බුද්ධජයන්ති ත්‍රිපිටක ග්‍රන්ථමාලා 48




## අභිධර්ම පිටකයෙහි

අටවැනි ග්‍රන්ථය

# යමකප්‍රකරණ

## ප්‍රථම භාගය

---

ලඞ්කා බෞද්ධමණ්ඩලයේ ආරාධනායෙන්
සරික්කාමුල්ලේ සිරිනන්දන පරිවෙණාධිපති
**පණ්ඩිත මැදඋයන්ගොඩ විමලකිත්ති ස්ථවිරයන් වහන්සේ**
විසින් කළ සිංහල අනුවාදය
මාකඩවර ශ්‍රී රේවත පරිවෙණාධිපති
**ශ්‍රී ධර්මස්කන්ධ රේවත පණ්ඩිත කරහම්පිටිගොඩ ශ්‍රී සුම සාර**
සතරකෝරළ මහදිසාවේ ප්‍රධාන සඞ්ඝනායක ස්ථවිරයන් වහන්සේ ප්‍රමුඛ
ත්‍රිපිටක සම්පාදක මණ්ඩලය මඟින් කරන ලද
විශේෂ සංස්කරණයෙන් යුක්ත යි.

---

**ශ්‍රී ලඞ්කා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජය මඟින්
ප්‍රකාශිත යි.**

**ශ්‍රී බු: ව: 2528**
**රාජ්‍ය වර්ෂ: 1985**

**Buddha Jayanti Tripitaka Series - Volume XLVIII**

THE EIGHTH BOOK IN THE

## ABHIDHAMMA PITAKA

# YAMAKAPPAKARANA

## PART I

WITH

THE SINHALA TRANSLATION

BY

VENERABLE **PANDIT MEDAUYANGODA WIMALAKITTI THERA**
THE PRINCIPAL OF SIRI NANDANA PIRIVENA,
SARIKKAMULLA, PANADURA

REVISED AND EDITED BY
THE TRIPITAKA EDITORIAL BOARD

WITH THE SPECIAL ASSISTANCE
OF

VENERABLE **PANDIT KARAHAMPITIGODA**
**SRI DHAMMAKKHANDHA REWATA SUMANASARA THERA**
THE CHIEF HIGH PRIEST OF THE PROVINCE OF
FOUR KORALAS AND THE PRINCIPAL OF
SRI REWATA PIRIVENA, MAKADAWARA

---

PUBLISHED

UNDER THE PATRONAGE

OF

DEMOCRATIC SOCIALIST REPUBLICAN
GOVERNMENT OF SRI LANKA

**B.E. 2528**

**C.E. 1985**

අභිධම්මපිටකෙ

# යමකප්පකරණං

පඨමො භාගො

අභිධර්මපිටකයෙහි

# යමක ප්‍රකරණ

ප්‍රථම භාගය

"තථාගතප්පවෙදිතො භික්ඛවෙ ධම්මවිනයො විවටො විරොචති නො පටිච්ඡන්නො."

"මහණෙනි, තථාගතයන් වහන්සේ විසින් දෙශනා කරන ලද ධර්මය හා විනය විවෘත වූයේ බබළයි, වැසුණේ නො මැ බබළයි."

(අඞ්ගුත්තරනිකාය, තිකනිපාත - භරණ්ඩුවග්ග, 9 සූත්‍රය)

සංස්කෘතික කටයුතු පිළිබඳ අමාත්‍ය

**ගරු ඊ. එල්. බී. හුරුල්ලේ මැතිතුමා**

කළ ඉල්ලීම අනුව

**කර්මාන්ත හා විද්‍යා කටයුතු අමාත්‍යව සිටි**

**ගරු සී. සිරිල් මැතිව් මැතිතුමා**

දුන් උපදෙස් පරිදි

**ලංකා ඛනිජ තෙල් නීතිගත සංස්ථාවේ සභාපති**

**දහම් විමලසේන මහතා**

සංස්ථාවේ අරමුදලින් පරිත්‍යාග කළ

රුපියල් දෙලක්ෂ පනස් දහසක මුදලින්

## බුද්ධ ජයන්ති ත්‍රිපිටක ග්‍රන්ථමාලාවේ

මෙම කාණ්ඩයේ පිටපත් 3000 මුද්‍රණය කරවන ලදී.

මෙයින් ජනිත කුසල සම්භාරය දායක කාරක සියලු දෙනා

අනුමෝදන් වෙත්වා.

At the request of the

**Hon'ble E. L. B. HURULLE**
Minister of Cultural Affairs

and on the advice of the

**Hon'ble C. CYRIL MATHEW**
former Minister of Industries and Scientific Affairs

**MR. DAHAM WIMALASENA**
Chairman of the Ceylon Petroleum Corporation

has donated

out of the funds of the Corporation

Rupees 2,50,000.00

being the full cost of the printing of

3000 copies of this Volume of

**THE BUDDHA JAYANTI TRIPITAKA SERIES.**

May the Kusala Kamma accrued by this
noble act be shared by everyone concerned.

# පටුන
# CONTENTS


| | පිටු |
|---|---|
| සංස්කාරක නිවේදනය ... .. ... | xiii–xiv |
| ත්‍රිපිටක සම්පාදක මණ්ඩලය ... ... ... | xv |
| සංකේත නිරූපණය .. .. ... | xvii |
| සංඥාපනය .. .. .. | xix-xxvii |
| පාළි හෝඩිය ... ... ... | xxix |
| විසය සූචි ... ... ... | xxxi |
| පෙළ හා පරිවර්තනය ... ... ... | 2–553 |
| විසෙසපදනුක්කමණිකා ... ... ... | 555–557 |
| බුද්ධජයන්ති ත්‍රිපිටක ග්‍රන්ථමාලා .. ... | 559 |

# සංස්කාරක නිවේදනය

සම්බුද්ධ පරිනිර්වාණයෙන් දෙදහස්පන්සියවසක් පිරිම අනුස්මරණය සඳහා ලඞ්කා බෞද්ධ මණ්ඩලය මගින් සංවිහිත වූ සත්ක්‍රියාවන් අතුරෙහි අතිශයින් දුර්සට වූ එහෙත් අර්ථාන්විත වූ කාර්‍ය්‍යය වූයේ බුදුන් වදළ ත්‍රිපිටක පාළිය සියබසින් පරිවර්තන කොට පළකරවාලීම යැ. 1955 මාර්තු මස 19වැනි දින කොළඹ රාජකීය විද්‍යාලයෙහි මුළුදුන් ගිහි පැවිදි මහාසභායෙහි දී ත්‍රිපිටක ධර්මයෙහි හසළ බුද්ධිමත් මහතෙරවරුන් සූසාලිස්නමක් නභාගෙන අග්‍රාමාත්‍ය ශ්‍රීමත් ජෝන් කොතලාවල මැතිතුමන් විසින් ත්‍රිපිටකයෙහි ඒ ඒ ග්‍රන්ථප්‍රදෙශයන් සියබසට නභාලනු සඳහා පවරාදෙන ලද්දේ ය. යමකප්‍රකරණයෙහි යමක පඤ්චකයකින් යුත් ප්‍රථමභාගය භාර දෙන ලදුයේ සරික්කාමුල්ලේ සිරිනන්දන පරිවෙණාධිපති පණ්ඩිත මැදඋයන්ගොඩ විමලකිත්ති මහාස්ථවිරයන් වහන්සේට ය.

මෙසේ පරිවර්තන සඳහා ත්‍රිපිටක ග්‍රන්ථ භාරගත් ඇතැම් මහ තෙර කෙනකුන් වහන්සේ තමනට නියත වූ ග්‍රන්ථයන් නිසිපරිදි සියබසට නභා යථාකාලයෙහි භාර දුන්හ. ඇතැම් පරිවර්තනයක් මුද්‍රණයට සුදුසු තත්ත්වයෙහි නො පැවැති අතර ඇතැම් ග්‍රන්ථයක් පරිවර්තන වූයේ ම නැත. මෙසේ හෙයින් ත්‍රිපිටකග්‍රන්ථ බොහෝ ගණනක් සංස්කාරකමණ්ඩලය මගින් පරිවර්තන කරන්නට සිදුවිය. ''යමකපපකරණ'' පරිවර්තනය ද එසේ සංස්කරණයට පැමිණි ග්‍රන්ථයෙකි. මුද්‍රණ අවස්ථාවට පැමිණ ඒ සංස්කරණයෙහි ද අසම්පූර්ණත්වය දුටු හෙයින් සම්පාදක මණ්ඩලයෙහි ජ්‍යෙෂ්ඨ සාමාජිකයකු වූ සතරකෝරළමහදිසාවේ ප්‍රධාන සංඝනායක පණ්ඩිත කරහම්පිටිගොඩ සුමනසාරස්ථවිරයන් වහන්සේ ප්‍රමුඛ සම්පාදක තෙරවරුන් විසින් පාඨශොධනය හා පරිවර්තනය මැනැවින් සකස් කොට මුද්‍රණයට පමුණුවනලද්දේ ය. තවද යමකප්පකරණය හඳුන්වාලමින් පූර්ණවූ සංඥාපනය ද පණ්ඩිත කරහම්පිටිගොඩ සුමනසාර නායක ස්ථවිරයන් වහන්සේ විසින් මැ සපයන ලද්දේ ය. මුද්‍රණයේ දී කිසි තැනෙක ගිලිහී ගිය වර්ණ ඇතිබව පෙනෙතුදු අර්ථාවබොධයට හානියක් නොවන හෙයින් ශුද්ධිපත්‍රයකුදු මෙහි නොයොදන ලද වෙයි.

බුද්ධජයන්ති ත්‍රිපිටක ග්‍රන්ථමාලායෙහි අටසාලිස් (48) වැන්න ද අභිධර්මපිටකයෙහි අටවැනි ග්‍රන්ථය ද වශයෙන් සලකන ලද යමකප්‍රකරණයේ ප්‍රථමභාගය මෙසේ බෞද්ධජනතාව අතට පමුණුවාලන්නට ලැබීම මහත් ප්‍රීතියට හෙතුයෙකි. ශ්‍රී ලඞ්කා ප්‍රජාතාන්ත්‍රික සමාජවාදී ජනරජයේ පූර්ණ අනුග්‍රහය ද සංස්කෘතික කටයුතු පිළිබඳ ගරු අමාත්‍ය තැන් පත් ඊ. ඇල්. බී. හුරුල්ලේ ඇමැති

තුමාණන්ගේ කාරුණික සහයෝගය ද ගෞරවයෙන් සඳහන් කරම්හ. විශෙෂයෙන් සංස්කෘතික අමාත්‍යාංශයේ අතිරේක ලේකම් තැන් පත් **සෝමපාල ජයවර්ධන** මහතාණන් ස්වකීය විවේකය ද නො සලකා දවරයෙහි කරන උත්සාහය ත්‍රිපිටකග්‍රන්ථ මුද්‍රණය යුහුසුලුව කරගෙනයෑමට මහත් අනුබලයෙක් වී ඇති බව කෘතඥතායෙන් පවසම්හ. ත්‍රිපිටක කාර්‍ය්‍යාලය පවත්වාගෙන යන කොළඹ මහානායක චාරිකාරාමයෙහි නියුක්ත **ඇම්. ඒ. ආර්. සමරසිංහ** මහතාගෙන් ලැබෙන සහයොගය ද, දෙහිවල දුටුගැමුණු මාවතෙහි **"තිසර"** මුද්‍රණායතනයෙහි අධිකාරී මහතුන් ප්‍රමුඛ කෘතහස්ත වූ කාර්‍ය්‍යමණ්ඩලය ත්‍රිපිටක ග්‍රන්ථ මුද්‍රණයෙහි ලා දක්වන අනුකූලතාව ද කෘතඥතා පූර්වක වැ කරුණායෙන් සිහිපත් කරම්හ.

සදෙවක ලොකයාට සුවසෙත පිණිස පවත්නා භාග්‍යවතුන් වහන්සේ විසින් ස්වාඛ්‍යාත වූ සද්ධර්මප්‍රවර්තනය පිණිස අනුබල දෙන සතුටුවන හැම සාධුහු මැ සුඛභාගී වෙත්වා'යි මෙත්සිතින් ආශංසනය කරම්හ.

මේ වගට, ශාසනොදයකාරී,

**ලබුගම ලඞ්කානන්ද**

මහානායක ස්ථවිර

ත්‍රිපිටක සම්පාදක මණ්ඩලයේ ප්‍රධාන සම්පාදක

$\frac{2528}{1985}$ ජුනි 22 වැනි දින

115, මහානායක චාරිකාරාමයේ
ත්‍රිපිටක මණ්ඩලය,
විජේරාම මාවත,
කොළඹ 7.

# ත්‍රිපිටක සම්පාදක මණ්ඩලය

**උපදේශක :**

අග්ගමහාපණ්ඩිත, බළන්ගොඩ ආනන්දමෛත්‍රෙය මහානායක මහාස්ථවිරපාදයන් වහන්සේ.

**සභාපති ;**

අහංගම විද්‍යාවංශපරිවෙණාධිපති, ත්‍රිපිටකවාගීශ්වරාචාර්ය, **කෝදගොඩ ශ්‍රී ඥානාලෝක** දක්ෂිණලංකායෙහි ප්‍රධාන සඞ්ඝනායක ස්ථවිරයන් වහන්සේ.

**ප්‍රධාන සම්පාදක :**

මොල්ලිගොඩ ප්‍රවචනොදය පරිවෙණාධිපති ශ්‍රී මහාවිහාරවංශාලඞ්කාර විමල කීර්ති ශ්‍රී ත්‍රිපිටකවාගීශ්වර, රාජකීයපණ්ඩිත **ලබුගම ශ්‍රී ලඞ්කානන්ද**—කෝට්ටේ ශ්‍රී කල්‍යාණී සාමග්‍රීධර්ම මහාසඞ්ඝසභායෙහි මහානායක ස්ථවිරයන් වහන්සේ.

**සම්පාදක :**

කිරුළපන පූර්වාරාමයෙහි හා නාරාහේන්පිට අභයාරාමයෙහි අධිපති අනුරාධපුර බුද්ධශ්‍රාවක ධර්මපීඨාධිපති, ශාස්ත්‍රපති, විද්‍යාවිශාරද, රාජකීයපණ්ඩිත, **රද්දල්ලේ ශ්‍රී ප්‍රඥාලෝක** — කෝට්ටේ ශ්‍රී කල්‍යාණී සාමග්‍රීධර්ම මහාසඞ්ඝසභායෙහි අනුනායක ස්ථවිරයන් වහන්සේ.

හෙරලියාවල ශ්‍රී සුධර්මාරාමාධිපති, ශාස්ත්‍රපති, විද්‍යාවිශාරද, රාජකීය පණ්ඩිත, **වේඩරුවේ ශ්‍රී අනවමදර්ශී** කෝට්ටේ ශ්‍රී කල්‍යාණී සාමග්‍රීධර්ම මහාසඞ්ඝසභායෙහි අනුනායක ස්ථවිරයන් වහන්සේ.

හිඟුලේ - මාකඩවර විහාරාධිපති, ශ්‍රී රෙවත පරිවෙණාධිපති, ශ්‍රී ධර්මස්කන්ධ රෙවත රාජකීය පණ්ඩිත, **කරහම්පිටිගොඩ සුමනසාර** සතර කෝරළ මහදිසාවේ ප්‍රධාන සඞ්ඝනායක ස්ථවිරයන් වහන්සේ.

කොළඹ තිඹිරිගස්යායේ අශොකාරාමාධිපති, රාජකීය පණ්ඩිත, **කරඳන ශ්‍රී ප්‍රඥාලඞ්කාර** නායක ස්ථවිරයන් වහන්සේ.

අනුරාධපුර බුද්ධශ්‍රාවක ධර්මපීඨයෙහි ත්‍රිපිටක අංශයෙහි මහාචාර්ය හා වැඩබලන පීඨාධිපති ශාස්ත්‍රාචාර්ය, රාජකීය පණ්ඩිත, ත්‍රිපිටකාචාර්ය **උඩුවේ ජනානන්ද** රයිගම් කෝරළයේ ප්‍රධාන සඞ්ඝනායක ස්ථවිරයන් වහන්සේ.

**ලේකම් ;**

කොළඹ බෞද්ධාලෝක මාවතෙහි බෞද්ධාලෝක විහාරාධිපති, පණ්ඩිත, **දෙරගමුවේ සිරි ධම්මපාල** - කොළඹදිශායෙහි ප්‍රධාන සඞ්ඝනායක ස්ථවිරයන් වහන්සේ.

## සංකේත නිරූපණය

සී.මු. – සීහළක්ඛරමුද්දිත යමකප්පකරණං

ස්‍යා. – ස්‍යාමක්ඛරමුද්දිත යමකප්පකරණං

ම.ඡ.සං - මරම්මඡට්ඨසංගීතියා සෝධිත යමකප්පකරණං

අට්ඨකථා – සීහළක්ඛර මුද්දිත පඤ්චප්පකරණට්ඨකථා

PTS – PALI TEXT SOCIETY

# සංඥාපන

සම්බුදුරදුන් විසින් නයමුඛ වශයෙන් සැකෙවින් වදාළ, අගසවු සැරියුත් මහරහතුන් වහන්සේ විසින් විස්තර විභාග කොට වාචනාමාර්ගයට නඟනලද අභිධර්මපිටකයෙහි සවැනි ප්‍රකරණය යමක ප්‍රකරණ නම් වෙයි. මෙ වූකලි බෞද්ධ දර්ශනයෙහි නාමරූප ධර්මයන්ගේ යථාතත්ත්වය ප්‍රශ්නොත්තර ස්වරූපයෙන් විවිධාකාරයෙන් නිරූපණය වූ සියුම් නුවණට මැ විෂය වන ඉතා ගැඹුරු දහම්විවරණයෙකි. 'ධම්මසඞ්ගණී' ආදි සෙසු ප්‍රකරණයන්හි නිර්දිෂ්ට ධර්මයන් විශද කොට තර කිරීම යමකප්‍රකරණයෙන් සිදු වෙයි.

ථෙරවාදී මහතෙරවරු යමකප්‍රකරණයෙහි ප්‍රශ්න නඟා කුශාග්‍රබුද්ධිමත් විතණ්ඩවාදීන්ගේ ඔද තෙද සිඳැ ඔවුන් නිහඬ කළහ. සිග්ගව මහතෙරණුවන් සමග ත්‍රිවෙදපාරප්‍රාප්ත මොග්ගලිපුත්තතිස්ස බ්‍රාහ්මණ මාණවකයා කළ වාදයෙහි දී 'සිග්ගව' තෙරණුවෝ මාණවකහට චිත්තයමකයෙහි:

''යස්ස චිත්තං උප්පජ්ජති න නිරුජ්ඣති. තස්ස චිත්තං නිරුජ්ඣිස්සති නුප්පජ්ජිස්සති.

යස්ස වා පන චිත්තං නිරුජ්ඣිස්සති නුප්පජ්ජිස්සති, තස්ස චිත්තං උප්පජ්ජති න නිරුජ්ඣතීති'' යි

යමක්හට සිත උපදි නිරුද්ධ නො වෙයි, ඔහට සිත නිරුද්ධ වන්නෙ නූපදනෙ වේ ද?

තවද යමක්හට සිත නිරුද්ධ වන්නෙ යැ නූපදනෙ යැ, ඔහට සිත උපදි, නිරුද්ධ නො වේ ද?

යන ප්‍රශ්නය යොමු කළහ. මාණවක නිරුත්තර වැ දහම් උගන්නා පිණිස සිග්ගව තෙරුන් වෙත පැවිදි වී. ඔහු පසු කලෙකැ 'මොග්ගලිපුත්තතිස්ස' මහරහත් නමින් ප්‍රකට සඞ්ඝස්ථවිර වැ පරවාදමථන කොට ථෙරවාදය නඟා අශොක අධිරාජයාගේ ධර්මවිජයෙහි සසුන් ව්‍යාප්ත කළ අයුරු ශාසන ඉතිහාසයෙහි පළට වෙයි. මෙසේ යමකප්‍රකරණය දර්ශනිකයන්ගේ බහුමානයට පාත්‍ර වූයෙ යි. මෙ තැන් සිට එහි නයවිභාග සැකෙවින් දක්වම්හ.

''කෙනට්ඨෙන යමකන්ති යුගලට්ඨෙන'' – 'කවර අරුතින් යමක වේ යැ යත්: යුගලාර්ථයෙනැ' යි 'යමකපාටිහාරිය, යමකසාලා' ආදි තන්හි සෙයින් යුගලාර්ථයෙන් යමක නම් වූ සැටි අත්‍ථකථායෙහි දක්වනලද යැ. යුගළ සඞ්ඛ්‍යාත යමකයන්ගේ වශයෙන් දෙසනලද වන බැවින් මෙ යමක නම් වෙයි.

මූලයමක යැ ඛන්ධයමක යැ ආයතනයමක යැ ධාතුයමක යැ සච්චයමක යැ සඞ්ඛාරයමක යැ අනුසයයමක යැ චිත්තයමක යැ ධම්මයමක යැ ඉන්ද්‍රියයමක යැ යි දශප්‍රකාරයෙන් යමකප්‍රකරණය විභාග කරනලදි.

## මූලයමක

කුශලාදි ධර්මයන් මූල වශයෙන් ප්‍රශ්නවිසර්ජන කොට දෙසන ලද්දෙ මූලයමක නම, මූලයමකයෙහි දෙසූ කුශලාදිධර්මයන් ස්කන්ධ වශයෙන් සඞ්ග්‍රහ කරන ලද්දෙ ඛන්ධයමක නම, ආයතන වශයෙන් සඞ්ග්‍රහ කොට දෙශන ලද්දෙ ආයතනයමක නම, ධාතු වශයෙන් සඞ්ග්‍රහ කොට දෙසන ලද්දෙ ධාතුයමක නම, සත්‍යය වශයෙන් සඞ්ග්‍රහ කොට දෙසනලද්දෙ සච්චයමක නම, කුශලාදි ධර්මයන් ලැබෙන පරිදි එකදෙශයක් සඞ්ග්‍රහ කොට කායසංස්කාර වාක්සංස්කාර චිත්තසංස්කාර යන මෙහි ලා දෙසනලද්දෙ සඞ්ඛාරයමක නම, කුශලාදිධර්මයන් ලැබෙන පරිදි එකදෙශයක් සඞ්ග්‍රහ කොට අනුසයපදයන්හි ලා දෙසනලද්දෙ අනුසයයමක නම, කුශලාදිධර්මයන් ලැබෙන පරිදි එකදෙශයක් සඞ්ග්‍රහ කොට 'සරාගං චිත්තං' ආදි සොළොස් පදයෙහි ද 'කුසලං චිත්තං' ආදි අභිධර්මමාතෘකා පදයන්හි ද ලා දෙසනලද්දෙ චිත්තයමක නම, කුශලාදිධර්මයන්ගෙ මාතෘකා තබා දෙසනලද්දෙ ධම්මයමක නම කුශලාදිධර්මයන් ලැබෙන පරිදි එකදෙශයක් සඞ්ග්‍රහ කොට ඉන්ද්‍රියයන්ගෙ වශයෙන් දෙසනලද්දෙ ඉන්ද්‍රියයමක නමි.

මෙහි පාළි ව්‍යවස්ථානය නය, යමක, ප්‍රශ්න, අර්ථ, වාර ප්‍රභෙද වශයෙනි. මේ මූලයමකයෙහි කුශලත්‍රිකමාතෘකායෙහි 'කුසලා ධම්මා' යන ආදි පදය නිසා මූලනය යැ මූලමූලනය යැ මූලකනය යැ මූලමූලකනය යැ යි නය සතරෙක් වෙයි. ඒ එකෙකි නයෙහි මූලයමක යැ එකමූලයමක යැ අඤ්ඤමඤ්ඤමූලයමක යැ යි තුන් තුන් යමකයෝ වෙති. සතර නයෙහි දෙළොස් යමකයෙකි. එකෙකි යමකයෙහි අනුලොම ප්‍රතිලොම විසින් ප්‍රශ්න දෙකක් දෙකක් බැවින් සූවිසි ප්‍රශ්නයෙකි. එකෙකි ප්‍රශ්නයෙහි සංශය, නිශ්චය වශයෙන් අර්ථ දෙකක් දෙකක් බැවින් අටසාලිස් අර්ථයෙකි. මෙසේ මැ අකුශලපදය නිසා ද අව්‍යාකෘතපදය නිසා ද එතුන් පදයන් එක්කොට දක්වනලද නාමපදය නිසා ද මෙතෙක් මැ ප්‍රභෙද වෙයි. මෙසේ කුශලත්‍රිකමාතෘකායෙහි සතර පදයෙහි ලා නය සොළසෙක් යමක අටසාලිසෙක් ප්‍රශ්න සයානූවක් අර්ථ එක්සිය දෙයානූවක් උද්දෙශ වශයෙන් කියනලද යැ.

ඒ මැ මූලවාරයාගේ පර්‍යාය වශයෙන් හෙතුවාර යැ නිදානවාර යැ සම්භවවාර යැ ප්‍රභවවාර යැ සමුට්ඨානවාර යැ ආහාරවාර යැ ආලම්බනවාර යැ පච්චයවාර යැ සමුදයවාර යැ යි තවද නවවාරයෙක් දක්වනලද යැ. සියල්ල දසයෙකි. දසවාරයෙහි නය එක්සියසැටෙකැ යමක සාරසියඅසූවකැ ප්‍රශ්න නවසියසැටෙකැ

අත් එක්දහස් නවසියවිස්සෙකි, උද්දෙශ නිර්දෙශ විසින් මෙහි වාර දෙකකි. උද්දෙශවාරයෙහි නැඟූ ප්‍රශ්නයන්ට නිර්දෙශවාරයෙහි පිළිතුරු සැපැයෙයි.

## ඛන්ධයමක

**ප්‍රඥප්තිවාර:** මූලයමකයෙහි දෙසූ කුශලාදිධර්මයන් ස්කන්ධ වශයෙන් සඞ්ග්‍රහ කොට දෙසනලද්දෙ ඛන්ධයමක නම් වෙයි. මෙහි මහාවාර තුනෙකි. ප්‍රඥප්තිවාර යැ ප්‍රවෘත්තිවාර යැ පරිඥාවාර යැ කියා යි. ප්‍රඥප්තිවාරයෙහි ලා ස්කන්ධයන්ගේ නාමාභිධාන ශොධන කෙරෙයි. ප්‍රවෘත්තිවාරයෙහි ලා ශොධිත නාමාභිධාන ඇති ස්කන්ධයන්ගේ උත්පාද නිරොධ වශයෙන් ප්‍රවෘත්තිය ශොධන කෙරෙයි. පරිඥාවාරයෙහි ලා ප්‍රවෘත්ත ස්කන්ධයන්ගේ ප්‍රත්‍යුත්පන්න අතීත අනාගත කාල වශයෙන් ත්‍රිවිධ පරිජානනය සැකෙවින් දක්වෙයි. ප්‍රඥප්තිවාරය උද්දෙශ නිර්දෙශ විසින් දෙ අයුරින් බෙදු දක්වනලද යැ. ප්‍රවෘත්ති පරිඥාවාරයන්හි උද්දෙශවාරයෙක් නැත. පෘච්ඡා විසර්ජන වශයෙන් විභාග කරනලද යැ. නය විසින් පදශොධනවාර යැ, පදශොධනමූලචක්‍රවාර යැ, ශුද්ධස්කන්ධවාර යැ, ශුද්ධස්කන්ධමූලචක්‍රවාර යැ යි නයවාර සතරෙකි.

පදශොධනවාරයෙහි ලා "රූපය රූපස්කන්ධ වේ ද? රූපස්කන්ධය රූප වේ ද?" ආදීන් පදශොධන කෙරෙයි. එ ද අනුලොම ප්‍රතිලොම පෘච්ඡා විසින් ද්විවිධ වෙයි. "රූපය රූපස්කන්ධ වේ ද? රූපස්කන්ධය රූප වේ ද?" යනු අනුලොම පෘච්ඡා යැ. "රූප නො වූයෙ රූපස්කන්ධ නො වේ ද? රූපස්කන්ධ නො වූයෙ රූප නො වෙ ද?" යනු ප්‍රතිලොම පෘච්ඡා යි. එහි පඤ්චස්කන්ධයාගේ වශයෙන් අනුලොම යමක පසෙක් ද ප්‍රතිලොම යමක පසෙක් දූ යි යමක දශයෙකි.

පදශොධනවාරයෙහි ශොධිත ස්කන්ධයන් ගෙන "රූපය රූප ස්කන්ධ වේ ද? ස්කන්ධයෝ වෙදනාස්කන්ධ වේ ද?" ආදීන් එක් එක් ස්කන්ධයක් මුල් කොට සතර සතර බැවින් චක්‍ර බඳනාලද්දෙ පදශොධන මූලචක්‍රවාර නම් වෙයි. එ ද අනුලොම ප්‍රතිලොම පෘච්ඡා විසන් ද්විවිධ වෙයි, එකෙකි ස්කන්ධයෙහි වාර සතර සතර බැවින් පඤ්චස්කන්ධයෙහි අනුලොම යමක විස්සෙක් ද ප්‍රතිලොම යමක විස්සෙක් දූ යි යමක සාලිසෙකි.

"රූපය රූපස්කන්ධ වේ ද? ස්කන්ධයෝ රූප වේ ද?" ආදීන් අමිශ්‍ර කොට චක්‍ර බඳනාලද්දෙ 'ශුද්ධස්කන්ධවාර' නම් වෙයි. මෙ ද අනුලොම පෘච්ඡා ප්‍රතිලොම පෘච්ඡා විසින් ද්විවිධ වෙයි. මෙහි අනුලොම පසෙක් ද ප්‍රතිලොම පසෙක් දූ යි යමක දශයෙකි.

"රූපය ස්කන්ධ වේ ද? ස්කන්ධයෝ වෙදනා වේ ද?" ආදීන් එකෙකි ස්කන්ධයන් මුල් කොට සතර සතර බැවින් චක්‍ර බඳනාලද්දෙ 'ශුද්ධස්කන්ධමූලචක්‍රවාර' නම් වෙයි. එ ද අනුලොම ප්‍රති-

ලොම විසින් ද්විවිධ යැ. එකෙකි ස්කන්ධයන් මුල් කොට සතර සතර චක්‍ර බැවින් අනුලොම යමක විස්සෙක් ද ප්‍රතිලොම යමක විස්සෙක් ද වෙයි.

මෙසේ උද්දෙශවාරයෙහි යමක සියයෙක් ද එකෙකි යමකයෙහි පෘච්ඡා දෙක බැවින් පෘච්ඡා දෙසියයෙක් ද එකෙකි පෘච්ඡායෙහි සංශය නිශ්චය විසින් අර්ථ දෙක බැවින් අර්ථ සාරසියයෙක් ද ලැබේ. නිර්දෙශවාරයෙහි ලා උද්දෙශවාරයෙහි උද්දිෂ්ට එකෙකි ප්‍රශ්නයට පිළිතුරු සැපැයෙයි.

**ප්‍රවෘත්තිවාර :** ප්‍රඥප්තිවාරයෙහි උද්දෙශවාර නය දක්වනලද හෙයින් ප්‍රවෘත්තිවාරයෙහි ලා නිර්දෙශවාර පමණක් ගන්නාලදි. මේ ප්‍රවෘත්ති මහාවාරයෙහි උත්පාදවාර යැ නිරොධවාර යැ උත්පාදනිරොධවාර යැ යි අතුරුවාර තුනෙක් වෙයි. උත්පාදවාරයෙහි ලා ධර්මයන්ගේ උත්පාද ලක්‍ෂණ දක්වයි. නිරොධවාරයෙහි ලා ඔවුන්ගේ මැ නිරොධ ලක්‍ෂණ දක්වයි. උත්පාදනිරොධවාරයෙහි ලා එදෙක්හි ලක්‍ෂණ දක්වයි.

උත්පාදවාරය කාල වශයෙන් ප්‍රත්‍යුත්පන්න යැ, අතීත යැ, අනාගත යැ, ප්‍රත්‍යුත්පන්නාතීත යැ, ප්‍රත්‍යුත්පන්නානාගත යැ, අතීතානාගත යැ යි වාර සයෙකැ බෙද දක්වනලද යැ. ප්‍රත්‍යුත්පන්නවාරයෙහි යළි පුද්ගල, අවකාශ, පුද්ගලාවකාශ විසින් වාර තුනෙකි. එ ද අනුලොම ප්‍රතිලොම විසින් ද්විවිධ වෙයි. පුද්ගලවාරයෙහි රූපස්කන්ධය මුල් කොට යමක සතරෙකැ වෙදනාස්කන්ධය මුල් කොට තුනෙකැ සංඥාස්කන්ධය මුල් කොට දෙකෙකැ සංස්කාරස්කන්ධය මුල් කොට එකෙකැ යි අනුලොම යමක දශයෙකැ එසෙයින් මැ අවකාශවාරයෙහි දසයෙකැ පුද්ගලාවකාශවාරයෙහි දශයෙකැ යි වාරත්‍රයෙහි අනුලොම යමක තිසෙකි. එසේ මැ ප්‍රතිලොම යමක තිසෙකැ යි යමක සැටෙකි. පෘච්ඡා එක්සියවිස්සෙකි. අර්ථ දෙසියසාලිසෙකි. අවශෙෂ එක් එක් කාලයෙහි ද මෙසේ මැ ප්‍රභෙද වෙයි. කාලවාර සයෙහි යමක තුන්සිය සැටෙකැ, පෘච්ඡා සත්සියවිස්සෙකැ, අර්ථ එක්දහස් සාරසිය සාලිසෙකි. මේ දක්වන ලද්දෙ උත්පාදවාර පාළි විභාගය යි. නිරොධවාර උත්පාදනිරොධවාර දෙක්හිදු අර්ථ විකල්පනය මෙසේ මැ දතයුතු.

**පරිඥාවාර :** පරිඥාවාරයෙහි ද කාලප්‍රභෙද සයත් අනුලොම ප්‍රතිලොම දෙනයත් ලැබෙයි. පුද්ගලවාර අවකාශවාර පුද්ගලාවකාශවාර අතුරෙන් පුද්ගලවාරය මැ ලැබෙයි. පරිජානන කෘත්‍යය පුද්ගලයා විසින් මැ කළයුතු වන බැවින් අවකාශවාර පුද්ගලාවකාශවාර එහි නො යෙදෙයි. එහි ප්‍රත්‍යුත්පන්නවාරයෙහි රූපස්කන්ධය මුල් කොට සතරෙකැ, වෙදනාස්කන්ධය මුල් කොට තුනෙකැ, සංඥාස්කන්ධය මූල් කොට දෙකෙකැ, සංස්කාරස්කන්ධය මුල් කොට එකෙකැ යි යට කියනලද පරිදි මැ අනුලොම නයෙහි දස යමකයෙක් ද ප්‍රතිලොම නයෙහි දස යමකයෙක් දූ යි යමක විස්-

සෙක් ලැබෙයි. එක් එක් කාලභෙදයෙහි විස්ස විස්ස බැවින් වාර සයෙහි යමක එක්සිය විස්සෙක් ද පෘච්ඡා දෙසියසාලිසෙක් ද අත්‍ථ සාරසියඅසූවක් ද වේ.

## ආයතන යමක

**ප්‍රඥප්තිවාර:** මූලයමකයෙහි දෙසූ කුශලාදිධර්මයන් මැ ආයතන වශයෙන් සඞ්ග්‍රහ කරනලද්දෙ ආයතනයමක නම. මෙහි පාළි විභාගය සකාන්‍ධයමකයෙහි මෙනි. එහි මෙන් මෙහිදු ප්‍රඥප්තිවාර යැ ප්‍රවෘත්තිවාර යැ පරිඥාවාර යැ යි මහාවාර තුනෙකි. ප්‍රඥප්තිවාරය උද්දෙශ නිර්දෙශ විසින් ද්විවිධ වෙයි. ප්‍රවෘත්ති පරිඥාවාර දෙක්හි නිර්දෙශවාර පමණි. නයවාර දෙළොස් ආයතනයන්ගේ වශයෙන් පදශොධනවාර යැ පදශොධනමූලචක්‍රවාර යැ ශුද්ධායතනවාර යැ ශුද්ධායතනමූලචක්‍රවාර යැ යි සතරෙකි. එකෙකි නයවාරය අනුලොම ප්‍රතිලොම විසින් ද්විවිධ වෙයි.

පදශොධනවාරයෙහි අාදශායතනයන්ගෙ වශයෙන් අනුලොම යමක දෙළොසෙක් ද ප්‍රතිලොම යමක දෙළොසෙක් දූ යි සූවිසි යමකයෙක් වෙයි. පදශොධනමූලචක්‍රවාරයෙහි එකෙකි ආයතනය මුල් කොට එකොළොස් එකොළොස් යමක බැවින් දෙළොස් පදයෙහි අනුලොම යමක එක්සිය දෙතිසෙක් ද ප්‍රතිලොම යමක එක්සිය දෙතිසෙක් දූ යි දෙසිය සූසැට යමක කෙනෙක් වෙති. ශුද්ධායතනවාරයෙහි දෙළොස් පදයෙහි අනුලොම දෙළොසෙකැ ප්‍රතිලොම දෙළෙසෙකැ යි සූවිසි යමකයෙකි. ශුද්ධායතනමූලචක්‍රවාරයෙහි එකෙකි ආයතන මුල් කොට එකොළොස එකොළොස බැවින් දෙළොස් පදයෙහි අනුලොම එක්සියදෙතිසෙකැ ප්‍රතිලොම එක්සිය දෙතිසෙකැ යි දෙසියසූසැට යමකයෝ වෙති. මෙසේ ප්‍රඥප්ති උද්දෙශයෙහි යමක පන්සිය සසැත්තෑවක් ද පෘච්ඡා එක්දහස් එක්සිය දෙපනසෙක් ද අත්‍ථ දෙදහස් තුන්සිය සතරෙක් ද ලැබෙයි. නිර්දෙශයෙහි දී පෙරසේ මැ උදෙසූ ප්‍රශ්නයනට අනුක්‍රමයෙන් පිළිතුරු සැපැයෙයි.

**ප්‍රවෘත්තිවාර :** මෙහිදු උත්පාදවාර, නිරොධවාර, උත්පාදනිරොධවාර යන තුන් අතුරුවාරයෙහි එකක් එකක් කාලභෙදයෙන් සවැදෑරුම් වෙයි. එකෙකි කාලයෙහි පුද්ගලවාර අවකාශවාර පුද්ගලාවකාශවාර විසින් වාරත්‍රයෙකි. එහැම අනුලොම ප්‍රතිලොම නය විසින් ද්විවිධ වෙයි.

ප්‍රත්‍යුත්පන්න පුද්ගලවාර අනුලොම නයෙහි චක්ඛායතනය මුල් කොට යමක එකොළොසෙකැ සොතායතනය මුල් කොට දශයෙකැ ඝානායතනය මුල් කොට නවයෙකැ ජිව්හායතනය මුල් කොට අටෙකැ කායායතනය මුල් කොට සතෙකැ රූපායතනය මුල් කොට සයෙකැ සද්දායතනය මුල් කොට පසෙකැ ගන්‍ධායතනය මුල් කොට සතරෙකැ රසායතනය මුල් කොට තුනෙකැ

ඵොට්ඨබ්බායතනය මුල් කොට දෙකෙකැ මනායතනය මුල් කොට එකෙකැ යි යමක සසැටෙක් වෙයි. මෙසේ මැ අවකාශවාරයෙහි සසැටෙක් ද පුද්ගලාවකාශවාරයෙහි සසැටෙක් දැ යි වාරත්‍රයෙහි එක්සිය අටානූවක් යමකයෝ වෙති. ප්‍රතිලොමනයෙහි දු එතෙක් මැ යමකයෝ ලැබෙති. දෙනයෙහි යමක තුන්සිය සයානූවකැ පෘච්ඡා සත්සිය දෙයානූවකැ අත්‍ථ එක්දහස් පන්සිය සවාසූවකි. මෙසෙයින් අවශෙෂ කාලභෙද පස ද එක් කොට ගත් කල්හි යමක දෙදහස් තුනසිය සසැත්තෑවකැ, පෘච්ඡා සාරදහස් සත්සිය දෙපනසෙකැ, අත්‍ථ නවදහස් පන්සිය සත රකැ යි දතයුතු. මෙ දක්වනලද්දෙ උත්පාදවාරයෙහි නය පමණි. නිරොධවාරයෙහි ද උත්පාදනිරොධවාරයෙහි ද මෙතෙක් මැ නය විභාග කළයුතු.

පරිඤ්ඤාවාරය ස්කන්ධයමකයෙහි කී නයින් මැ ගතයුතු.

## ධාතුයමක

මූලයමකයෙහි දෙසූ කුශලාදි ධර්මයන් ධාතු වශයෙන් සඞ්ග්‍රහ කරන ද්දෙ ධාතුයමක නම් වෙයි. මෙහි දු පාළි විභාගය ආයතනයමකයෙහි කී නයින් මැ දතයුතු. ප්‍රඥප්තිවාරාදි තුන් මහාවාර ද අවශෙෂ අන්තරවාර ද කාලප්‍රභෙදදිය ද ආයතනයමකයෙහි මෙනී. ධාතු අටළොසක් වන බැවින් නයවිකල්ප ආයතනයමකයට වඩා අධික වෙයි. එ හැම ආයතනයමකයෙහි කී නයානුසාරයෙන් ගතයුතු.

## සච්චයමක

මූලයමකයෙහි දෙසූ කුශලාදි ධර්මයන් සත්‍යය වශයෙන් සඞ්ග්‍රහ කරනලද්දෙ 'සච්චයමක' නම් වෙයි. යට දැක්වූ නයින් මැ ප්‍රඥප්තිවාරාදී තුන් මහාවාරයෝ ද අන්තරවාරාදි අවශෙෂ ප්‍රභෙදයෝ ද දතයුත්තාහ. ප්‍රඥප්තිවාරයෙහි සතර සත්‍යයන්ගේ වශයෙන් පදශොධනවාර, පදශොධන මූලචක්‍රවාර, ශුද්ධසත්‍යවාර, ශුද්ධසත්‍ය-මූලචක්‍රවාර යන මේ සතරවාරයෙහි යමක සඞ්ඛ්‍යාව දතයුතු.

ප්‍රවෘත්තිවාරයෙහි ප්‍රත්‍යුත්පන්නපුද්ගලවාර අනුලොමනයෙහි නිරොධයාගේ උත්පාදනිරොධ නොයෙදෙන බැවින් දුඃඛසත්‍යය මුල් කොට සමුදයසත්‍යය මාර්ගසත්‍යය සමග යමක දෙකක් ද සමුදයසත්‍යය මුල් කොට මාර්ගසත්‍යය සමග එකක් දැ යි යමක තුනක් ලැබෙයි. ප්‍රතිලොමනයෙහි ද අවකාශවාරාදීයෙහි ද එ පමණ මැ වෙයි. මෙසේ හැම වාරයෙහි මැ තුන් තුන් යමකයන්ගේ වශයෙන් යමක ගිණියැයුතු.

සත්‍යයමක ප්‍රවෘත්තිවාරයෙහි නිරොධසත්‍යය නො ලැබේ මැ යි. සමුදයසත්‍යයත් මාර්ගසත්‍යයත් යන දෙක ප්‍රවෘත්තියෙහි මැ ලැබෙයි. දුඃඛසත්‍යය ච්‍යුතිප්‍රතිසන්ධියෙහි දු ප්‍රවෘත්තියෙහි දු ලැබෙයි. කාල භෙදය ච්‍යුතිප්‍රතිසන්ධීන්ගේ ද ප්‍රවෘත්තියගේ ද වශයෙන් ලැබෙයි. ලැබෙන පරිදි අත්‍ථ විනිශ්චය දතයුතු.

## සංස්කාරයමක

මූලයමකයෙහි දෙසූ කුශලාදි ධර්මයන් ලැබෙන පරිදි එක දෙශයෙකින් ගෙන සංස්කාරයන්ගේ වශයෙන් සඞ්ග්‍රහ කරනලද්දෙ සංස්කාරයමක නම් වෙයි. කායසංස්කාර, වාක්සංස්කාර, චිත්ත-සංස්කාර විසින් සංස්කාර තුනෙකි. මෙහි දු ප්‍රඥප්තිවාරාදි තුන් මහාවාරයෝ ද අනන්තරවාරයෝ ද අවශෙෂ ප්‍රභෙදයෝ ද පළමු කී නයින් මැ දතයුත්තාහ.

**ප්‍රඥප්තිවාරයෙහි :** පදශොධනවාර අනුලොමනයෙහි යමක තුනෙකැ ප්‍රතිලොමනයෙහි තුනෙකැ යි යමක සයෙක් වෙයි. පදශොධනමූලචක්‍රවාරයෙහි එකෙකි. සංස්කාරය මුල් කොට යමක දෙකක් දෙකක් බැවින් සයෙකැ ප්‍රතිලොමනයෙහි සයෙකැ යි යමක දෙළොසෙකි. ශුද්ධමූලචක්‍රවාරය මෙහි නො ගන්නාලද යැ.

**ප්‍රවෘත්තිවාරයෙහි :** ප්‍රත්‍යුත්පන්නකාල පුද්ගලවාර අනුලොම නයෙහි කායසංස්කාරය මුල් කොට යමක දෙකෙක් ද වාක්-සංස්කාරය මුල් කොට එකෙක් ද යි යමක තුනෙක් ලැබෙයි. ප්‍රතිලොමනයෙහි දු අවකාශාදි වාරයන්හි දු තුන් තුන් යමක විසින් යමක සඞ්ඛ්‍යා දතයුතු.

## අනුසයයමක

මූලයමකයෙහි දෙසූ කුශලාදි ධර්මයන් ලැබෙන අයුරින් එක-දෙශයෙකින් ගෙන අනුශයයන්ගේ වශයෙන් සඞ්ග්‍රහ කරනලද්දෙ 'අනුසයයමක' නම් වෙයි. මෙහි පරිච්ඡෙදවාර යැ පරිච්ඡින්නුද්දෙස-වාර යැ උප්පත්තිට්ඨානවාර යැ යි වාර තුනෙක් වෙයි. යළි අනු-සයවාර යැ සානුසයවාර යැ පජහනවාර යැ පරිඤ්ඤාවාර යැ පහීන-වාර යැ උප්පජ්ජනවාර යැ ධාතුවාර යැ යි සත් මහාවාරයෙක් වෙයි.

මෙහි අනුසයවාර අනුලොම ප්‍රතිලොම නය විසින් ද්විවිධ ය. අනුලොම නයෙහි පුද්ගලවාර යැ අවකාශවාර යැ පුද්ගලාවකාශ-වාර යැ යි අතුරු වාර තුනෙක් වෙයි. පුද්ගලවාරයෙහි කාම-රාගානුසය මුල් කොට යමක සයෙකැ පටිඝානුසය මුල් කොට පසෙකැ මානානුසය මුල් කොට සතරෙකැ දිට්ඨානුසය මුල් කොට තුනෙකැ විචිකිච්ඡානුසය මුල් කොට දෙකෙකැ භවරාගානුසය මුල් කොට එකෙකැ යි එකමූලක යමක එක්විස්සෙක් වෙයි. යළි දුක-මූලක පසෙකැ තිකමූලක සතරෙකැ චතුෂ්කමූලක තුනෙකැ පඤ්චක-මූලක දෙකෙකැ ෂට්කමූලක එකෙකැ යි අනාය වූ ද යමක පස-ළොසෙක් වෙයි. පළමු එක්විස්ස හා සමග පුද්ගලවාරයෙහි සතිස් යමකයෝ වෙති.

මෙසේ මැ අවකාශවාරයෙහි සතිසෙකැ පුද්ගලාවකාශවාරයෙහි සතිසෙකැ යි අනුලොමනයෙහි අටතුරාසියක් යමකයෝ වෙති. එපරිදි මැ ප්‍රතිලොමනයෙහි දු අටතුරාසියෙකි. සියල්ල එක් වැ දෙසිය සොළසෙකි. පෘච්ඡා සාරසිය දෙතිසෙකි. අත්‍ථ අටසිය සූසැටෙකි. මෙ පරිදි සානුසයවාර යැ පජහනවාර යැ පරිඤ්ඤ-වාර යැ පහීනවාර යැ උප්පජ්ජනවාර යැ යන වාර පසෙහි දු එකෙකි වාරයෙහි මෙතෙක් මැ යමකයෝ ලැබෙති. යමක දෙගුණ කොට පෘච්ඡා ද, එ දෙගුණ කොට අත්‍ථයෝ ද දතයුත්තාහ. අවකාශවාරයෙහි ''යත්‍ථ තත්‍ථ'' යි සප්තමී නිර්දෙශ නො කොට ''යතො තතො'' යි පඤ්චමී නිර්දෙශය මෙහි විශෙෂයෙකි.

ධාතුවාරය: පෘච්ඡාවාර යැ විසර්ජනවාර යැ යි දෙපරිදි වෙයි. මෙහි එකෙකි යමකයෙහි එකෙකි පෘච්ඡායෙක් මැ වෙයි. කාමධාතු-මූලක අනුලොමපෘච්ඡා ශුද්ධික සයෙකැ මිශ්‍රක තුනෙකැ යි නවයෙකි. එසේ මැ රූපධාතුමූලක නවයෙකැ අරූපධාතුමූලක නවයෙකැ යි අනුලොමපෘච්ඡා සත්විස්සෙකැ ප්‍රතිලොමපෘච්ඡා සත්විස්සෙකැ දුකමූලකපෘච්ඡා සත්විස්සෙකැ යි එකාසූ පෘච්ඡාවෝ වෙත්.

## චිත්තයමක

මූලයමකයෙහි දෙසූ කුශලාදි ධර්මයන් ලැබෙන සේ එකදෙශ-යෙකින් ගෙන චිත්ත වශයෙන් සඞ්ග්‍රහ කරනලද්දේ 'චිත්තයමක' නම් වෙයි. මෙහි මාතෘකා තැබීම යැ තැබූ මාතෘකා විසදීම යැ යි වාර දෙකෙකි. මාතිකාඨපනයෙහි පුද්ගලවාර යැ ධර්මවාර යැ පුද්-ගලධර්මවාර යැ යි ශුද්ධික මහාවාර තුනෙකි. ''සරාගං චිත්තං'' ආදි සොළොස්පදයෙන් වෙසෙසනලද පුද්ගලවාර සොළොසෙකැ ධර්මවාර සොළොසෙකැ පුද්ගලධර්මවාර සොළොසෙකැ යි මිශ්‍රක-වාර අටසාලිසෙක් වෙයි. ''කුසලං චිත්තං'' ආදි නයින් දෙසිය සසැටක් අභිධර්මමාතෘකා පදයන්ගේ වශයෙන් කුශලාදි පදයෙන් වෙසෙසනලද පුද්ගලවාර දෙසිය සසැටෙකැ ධර්මවාර දෙසිය සසැ-ටෙක පුද්ගලධර්මවාර දෙසිය සසැටෙකැ යි සත්සිය අටානූවක් මිශ්‍රකවාරයෝ වෙති.

ඔවුනතුරෙහි ශුද්ධිකපුද්ගල මහාවාරයෙහි: උත්පාදනිරොධකාල-සම්භෙදවාර යැ උත්පාදෙත්පන්නවාර යැ නිරොධොත්පන්නවාර යැ උත්පාදවාර යැ නිරොධවාර යැ උත්පාදනිරොධවාර යැ උත්පද්‍යා-මානනිරොධවාර යැ උත්පද්‍යාමානොත්පන්නවාර යැ නිරුධ්‍යමා-නොත්පන්නවාර යැ උත්පන්නොත්පාදවාර යැ අතීතානාගතවාර යැ උත්පන්නොත්පද්‍යාමානවාර යැ නිරුද්ධනිරුධ්‍යමානවාර යැ අතික්‍රාන්ත-කාලවාර යැ යි අනන්තරවාර තුදුසෙකි.

ඔවුනතුරෙහි: උත්පාදවාර යැ නිරොධවාර යැ උත්පාදනිරොධවාර යැ යන මේ වාරත්‍රයෙහි අනුලොම ප්‍රතිලොම වශයෙන් සයක් සයක් බැවින් අටළොස් යමකයෙක් වෙයි. උත්පන්නොත්පාදවාරයෙහි අතීතානාගතකාල වශයෙන් අනුලොම නය දෙකෙකැ ප්‍රතිලොම නය දෙකෙකැ යි යමක සතරෙකි. සෙසු වාරයන් අතුරෙහි ආදියෙහි කී වාරත්‍රය යැ අනන්තරවාරත්‍රය යැ අවසානවාර සතර යැ යන දසවාරයෙහි එකෙකි වාරයෙහි අනුලොම එකෙකැ ප්‍රතිලොම එකෙකැ යි යමක විස්සෙකි. මෙසේ තුදුස් අතුරුවාරයෙහි යමක දෙසාළිසෙක් ලැබෙයි. එහි පෘච්ඡා සුවාසූවකි. අත්‍ථ එක්සිය අටසැටෙකි. ශුද්ධික ධර්මවාරයෙහි දු ශුද්ධික පුද්ගලධර්මවාරයෙහි දු මෙතෙක් මැ යමකයෝ වෙති. සියලු යමක එක්සිය සවිස්සෙකැ. එමෙන් දෙගුණයක් පෘච්ඡා ද එමෙන් දෙගුණයක් අත්‍ථයෝ ද වෙති. මෙසෙයින් සෙසු වාරයන්හි දු යමක සඞ්ඛ්‍යා දතයුතු.

## ධම්මයමක

මූලයමකයෙහි දෙසූ කුශලාදි ධර්මයන්ගේ මාතෘකා තබා චිත්තයමකයට අනතුරු වැ සඞ්ග්‍රහ කරනලද්දෙ 'ධම්මයමක' නම් වෙයි. මෙහි පාළි විභාගය ස්කන්ධයමකයෙහි මෙනි. ප්‍රඥප්තිවාරයෙහි කුශලාදිධර්මයන්ගේ වශයෙන් පදශොධනවාර යැ පදශොධනමූලචක්‍රවාර යැ ශුද්ධධර්මවාර යැ ශුද්ධධර්මමූලචක්‍රවාර යැ යන මේ නය සතරෙහි යමක සඞ්ඛ්‍යා පළමු කී නයානුසාරයෙන් සලකන්නෙ යැ.

ප්‍රවෘත්තිවාරයෙහි: ප්‍රත්‍යුත්පන්න පුද්ගලවාර අනුලොමනයෙහි කුශලධර්ම මුල් කොට යමක දෙකෙකැ අකුශලධර්ම මුල් කොට එකෙකැ යි යමක තුනෙක් ලැබෙයි. ප්‍රතිලොම නයෙහි දු අවකාශාදිවාරයන්හි දු මෙතෙක් මැ වෙයි. හැමවාරයෙකැ මැ තුන් තුන් යමකයෝ ගිණියැ යුත්තාහ.

## ඉන්ද්‍රියයමක

මූලයමකයෙහි දෙසූ කුශලාදි ධර්මයන් ලැබෙන පරිදි එකදෙශයෙකින් ගෙන ඉන්ද්‍රියන්ගේ වශයෙන් සඞ්ග්‍රහ කරනලද්දෙ 'ඉන්ද්‍රියයමක' නම් වෙයි. පාළි විභාගය ස්කන්ධයමකාදියෙහි මෙනි. ප්‍රඥප්තිවාරාදි තුන් මහාවාරයෝ ද අවශෙෂ අනන්තරවාරයෝ ද කාලප්‍රභෙදදිය ද ස්කන්ධයමකයෙහි ආ පරිදි මැ ගතයුතු. ඉන්ද්‍රිය සඞ්ඛ්‍යා බොහෝ බැවින් ධාතුයමකයට ද වඩා මෙහි යමකවිකල්පයෝ වෙති. පළමු කී නයානුසාරයෙන් නයවිභාග දතයුතු.

**කරහම්පිටිගොඩ සුමනසාර**
සතරකෝරළ මහදිසාවේ
ප්‍රධාන සඞ්ඝනායක ස්ථවිර

රෙවත පිරිවෙන,
මාකඩවර,
හිඟුල.
85. 6. 21.

# THE PALI ALPHABET

## IN SINHALA CHARACTERS

### VOWELS

අ a　ආ ā　ඉ i　ඊ ī　උ u　ඌ ū　එ ē　ඔ ō

### CONSONANTS

| | | | | |
|---|---|---|---|---|
| ක ka | ඛ kha | ග ga | ඝ gha | ඞ ṅa |
| ච ca | ඡ cha | ජ ja | ඣ jha | ඤ ña |
| ට ṭa | ඨ ṭha | ඩ ḍa | ඪ ḍha | ණ ṇa |
| ත ta | ථ tha | ද da | ධ dha | න na |
| ප pa | ඵ pha | බ ba | භ bha | ම ma |

| | | | | | | | |
|---|---|---|---|---|---|---|---|
| ය ya | ර ra | ල la | ව va | ස sa | හ ha | ළ ḷa | අං ṃ |
| ක ka | කා kā | කි ki | කී kī | කු ku | කූ kū | කෙ kē | කො kō |
| ඛ kha | ඛා khā | ඛි khi | ඛී khī | ඛු khu | ඛූ khū | ඛෙ khē | ඛො khō |
| ග ga | ගා gā | ගි gi | ගී gī | ගු gu | ගූ gū | ගෙ gē | ගො gō |

### CONJUNCT-CONSONANTS

| | | | |
|---|---|---|---|
| කක kka | ඤඤ ñña | ත්‍ර tra | මඵ mpha |
| කඛ kkha | ණහ ṇha | දද dda | මබ, ම්බ mba |
| ක්‍ය kya | ඤච ñca | දධ ddha | මභ mbha |
| ක්‍රි kri | ඤඡ ñcha | ද්‍ර dra | මම mma |
| කව kva | ඤජ ñja | ද්ව, දව dva | මහ mha |
| ඛ්‍ය khya | ඤඣ ñjha | ධව dhva | යය, ය්‍ය yya |
| ඛව khva | ටට ṭṭa | නත nta | යහ yha |
| ගග gga | ටඨ, ට්ඨ ṭṭha | නථ ntha | ලල lla |
| ගඝ ggha | ඩඩ ḍḍa | නද nda | ල්‍ය lya |
| ඞක ṅka | ඩඪ ḍḍha | නධ ndha | ලහ lha |
| ග්‍ර gra | ණණ ṇṇa | නන nna | වහ wha |
| ඞඛ ṅkha | ණට ṇṭa | නහ nha | සස ssa |
| ඞග ṅga | ණඨ ṇṭha | පප ppa | සම sma |
| ඞඝ ṅgha | ණ්ඩ, ණඩ ṇḍa | පඵ ppha | සව sva |
| චච cca | තත tta | බබ bba | හම hma |
| චඡ ccha | තථ ttha | බභ bbha | වහ vha |
| ජජ jja | තව tva | බ්‍ර bra | ළහ ḷha |
| ජඣ jjha | | මප mpa | |

ා ā　ි i　ී ī　ු u　ූ ū　ෙ ē

# යමකප්පකරණ - ප්‍රථමභාගය

## විසය සූචි

### 1. මූලයමකං 2 - 33


1. පණ්ණත්ති උද්දෙසවාරො .. .. 2–15
2. නිද්දෙසවාරො .. .. 16–33


### 2. ඛන්ධයමකං 34 - 139


1. පණ්ණත්ති උද්දෙසවාරො .. .. 34–41
2. පණ්ණත්ති නිද්දෙසවාරො .. .. 42–61
3. පවත්ති උප්පාදවාරො .. .. 62–85
4. පවත්ති නිරොධවාරො .. .. 86–111
5. උප්පාද නිරොධවාරො .. .. 112–133
6. පරිඤ්ඤාවාරො .. .. 134–139


### 3. ආයතනයමකං 140 - 413


1. පණ්ණත්ති උද්දෙසවාරො .. .. 140–147
2. පණ්ණත්ති නිද්දෙසවාරො .. .. 148–159
3. පවත්ති උප්පාදවාරො .. .. 160–267
4. පවත්ති නිරොධවාරො .. .. 268–357
5. උප්පාද නිරොධවාරො .. .. 358–407
6. පරිඤ්ඤාවාරො .. .. 406–413


### 4. ධාතුයමකං 414 - 433


1. උද්දෙසවාරො .. .. 414–419
2. පණ්ණත්ති නිද්දෙසවාරො .. .. 420–429
3. උප්පාදවාරො .. .. 430–433
4. පරිඤ්ඤාවාරො .. .. 432–433


### 5. සච්චයමකං 434 - 553


1. උද්දෙසවාරො .. .. 434–437
2. නිද්දෙසවාරො .. .. 438–445
3. උප්පාදවාරො .. .. 446–487
4. නිරොධවාරො .. .. 488–525
5. උප්පාදනිරොධවාරො .. .. 526–547
6. පරිඤ්ඤාවාරො .. .. 548–553

අභිධම්මපිටකෙ

# යමකප්පකරණං

නමො තස්ස භගවතො අරහතො සම්මාසම්බුද්ධස්ස

## 1. මූලයමකං

### 1. පණ්ණත්තිඋද්දෙසවාරො

1. යෙ කෙචි කුසලා ධම්මා සබ්බෙ තෙ කුසලමූලා, යෙ වා පන කුසලමූලා සබ්බෙ තෙ ධම්මා කුසලා.

2. යෙ කෙචි කුසලා ධම්මා සබ්බෙ තෙ කුසලමූලෙන එකමූලා, යෙ වා පන කුසලමූලෙන එකමූලා සබ්බෙ තෙ ධම්මා කුසලා.

3. යෙ කෙචි කුසලමූලෙන එකමූලා ධම්මා සබ්බෙ තෙ කුසලමූලෙන අඤ්ඤමඤ්ඤමූලා, යෙ වා පන කුසලමූලෙන අඤ්ඤමඤ්ඤමූලා සබ්බෙ තෙ ධම්මා කුසලා.

4. යෙ කෙචි කුසලා ධම්මා සබ්බෙ තෙ කුසලමූලමූලා, යෙ වා පන කුසලමූලමූලා සබ්බෙ තෙ ධම්මා කුසලා.

5. යෙ කෙචි කුසලා ධම්මා සබ්බෙ තෙ කුසලමූලෙන එකමූලමූලා, යෙ වා පන කුසලමූලෙන එකමූලමූලා සබ්බෙ තෙ ධම්මා කුසලා.

6. යෙ කෙචි කුසලමූලෙන එකමූලමූලා ධම්මා සබ්බෙ තෙ කුසලමූලෙන අඤ්ඤමඤ්ඤමූලමූලා, යෙ වා පන කුසලමූලෙන අඤ්ඤමඤ්ඤමූලමූලා සබ්බෙ තෙ ධම්මා කුසලා.

අභිධර්මපිටකයෙහි

# යමක ප්‍රකරණ

ඒ භගවත් අර්හත් සම්මාසම්බුද්ධරජාණන් වහන්සේට නමස්කාර වේවා.

## 1. මූලයමක.

### 1. ප්‍රඥප්ති උද්දෙශවාර

1. කුශල ස්වභාව වූ යම්කිසි ධර්ම කෙනෙක් ඇද්ද ඒ හැම කුශලමූල වෙත් ද, යළි යම් කුශලමූල කෙනෙක් හෝ ඇද්ද ඒ හැම ධර්මයෝ කුශල වෙත් ද.

2. කුශල ස්වභාව වූ යම්කිසි ධර්ම කෙනෙක් ඇද්ද ඒ හැම කුශලමූල විසින් එකමූල (සමානමූල) වෙත් ද, යළි කුශලමූල විසින් එකමූල වූ යම් ධර්ම කෙනෙක් හෝ ඇද්ද ඒ හැම ධර්මයෝ කුශල වෙත් ද.

3. කුශලමූල විසින් එකමූල වූ යම්කිසි ධර්ම කෙනෙක් ඇද්ද ඒ හැම ධර්මයෝ කුශලමූල විසින් අන්‍යෝන්‍යමූල වෙත් ද, යළි කුශලමූල විසින් අන්‍යෝන්‍යමූල වූ යම් ධර්ම කෙනෙක් හෝ ඇද්ද ඒ හැම ධර්මයෝ කුශල වෙත් ද.

4. කුශල ස්වභාව වූ යම්කිසි ධර්ම කෙනෙක් ඇද්ද ඒ හැම ධර්මයෝ කුශලමූල සඞ්ඛ්‍යාත මූල (ධර්ම) වෙත් ද, යළි කුශලමූල මූල වූ යම් ධර්ම කෙනෙක් හෝ ඇද්ද ඒ හැම ධර්මයෝ කුශල වෙත් ද.

5. කුශල ස්වභාව වූ යම්කිසි ධර්ම කෙනෙක් ඇද්ද ඒ හැම කුශලමූල විසින් එකමූල (සමානමූල) වූ මූල වෙත් ද, යළි කුශල මූල විසින් එකමූලමූල වූ යම් ධර්ම කෙනෙක් හෝ ඇද්ද ඒ හැම ධර්මයෝ කුශල වෙත් ද.

6. කුශලමූල විසින් එකමූලමූල වූ යම්කිසි ධර්ම කෙනෙක් ඇද්ද ඒ හැම කුශලමූල විසින් අන්‍යෝන්‍යමූලමූල වෙත් ද, යළි කුශලමූල විසින් අන්‍යෝන්‍යමූලමූල වූ යම් ධර්ම කෙනෙක් හෝ ඇද්ද ඒ හැම ධර්මයෝ කුශල වෙත් ද.

7. යෙ කෙචි කුසලා ධම්මා සබ්බෙ තෙ කුසලමූලකා, යෙ වා පන කුසලමූලකා සබ්බෙ තෙ ධම්මා කුසලා.

8. යෙ කෙචි කුසලා ධම්මා සබ්බෙ තෙ කුසලමූලෙන එකමූලකා, යෙ වා පන කුසලමූලෙන එකමූලකා සබ්බෙ තෙ ධම්මා කුසලා.

9. යෙ කෙචි කුසලමූලෙන එකමූලකා ධම්මා සබ්බෙ තෙ කුසලමූලෙන අඤ්ඤමඤ්ඤමූලකා, යෙ වා පන කුසලමූලෙන අඤ්ඤ-මඤ්ඤමූලකා සබ්බෙ තෙ ධම්මා කුසලා.

10. යෙ කෙචි කුසලා ධම්මා සබ්බෙ තෙ කුසලමූලමූලකා, යෙ වා පන කුසලමූලමූලකා සබ්බෙ තෙ ධම්මා කුසලා.

11. යෙ කෙචි කුසලා ධම්මා සබ්බෙ තෙ කුසලමූලෙන එකමූලමූලකා, යෙ වා පන කුසලමූලෙන එකමූලමූලකා සබ්බෙ තෙ ධම්මා කුසලා.

12. යෙ කෙචි කුසලමූලෙන එකමූලමූලකා ධම්මා සබ්බෙ තෙ කුසලමූලෙන අඤ්ඤමඤ්ඤමූලමූලකා, යෙ වා පන කුසලමූලෙන අඤ්ඤමඤ්ඤමූලමූලකා[1] සබ්බෙ තෙ ධම්මා කුසලා.

කුසලපදනයචතුක්කං.

13. යෙ කෙචි අකුසලා ධම්මා සබ්බෙ තෙ අකුසලමූලා, යෙ වා පන අකුසලමූලා සබ්බෙ තෙ ධම්මා අකුසලා.

14. යෙ කෙචි අකුසලා ධම්මා සබ්බෙ තෙ අකුසලමූලෙන එකමූලා, යෙ වා පන අකුසලමූලෙන එකමූලා සබ්බෙ තෙ ධම්මා අකුසලා.

---

1. අඤ්ඤමඤ්ඤමූලකා – P.T.S.

7. කුශල ස්වභාව වූ යම්කිසි ධර්‍ම කෙනෙක් ඇද්ද එ හැම කුශලමූල ඇත්තාහු වෙත් ද, යළි කුශලමූල ඇති යම් ධර්‍ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්‍මයෝ කුශල වෙත් ද.

8. කුශල ස්වභාව වූ යම්කිසි ධර්‍ම කෙනෙක් ඇද්ද එ හැම කුශලමූල විසින් එකමූල (සමානමූල) ඇත්තාහු වෙත් ද, යළි කුශල මූල විසින් එකමූල ඇති යම් ධර්‍ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්‍මයෝ කුශල වෙත් ද.

9. කුශලමූල විසින් එකමූල ඇති යම්කිසි ධර්‍ම කෙනෙක් ඇද්ද, එ හැම කුශලමූල විසින් අන්‍යෝන්‍යමූල ඇත්තාහු වෙත් ද, යළි කුශලමූල විසින් අන්‍යෝන්‍යමූල ඇති යම් ධර්‍ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්‍මයෝ කුශල වෙත් ද.

10. කුශල ස්වභාව වූ යම්කිසි ධර්‍ම කෙනෙක් ඇද්ද එ හැම කුශලමූල සඞ්ඛ්‍යාත මූල ඇත්තාහු වෙත් ද, යළි කුශලමූල සඞ්ඛ්‍යාත මූල ඇති යම් ධර්‍ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්‍මයෝ කුශල වෙත් ද.

11. කුශල ස්වභාව වූ යම්කිසි ධර්‍ම කෙනෙක් ඇද්ද එ හැම කුශලමූල විසින් එකමූල (සමානමූල) වූ මූල ඇත්තාහු වෙත් ද, යළි කුශලමූල විසින් එකමූල වූ මූල ඇති යම් ධර්‍ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්‍මයෝ කුශල වෙත් ද.

12. කුශලමූල විසින් එකමූල (සමානමූල) වූ මූල ඇති යම්කිසි ධර්‍ම කෙනෙක් ඇද්ද එ හැම කුශලමූල විසින් අන්‍යෝන්‍ය මූල වූ මූල ඇත්තාහු වෙත් ද, යළි කුශලමූල විසින් අන්‍යෝන්‍ය මූල වූ මූල ඇති යම් ධර්‍ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්‍මයෝ කුශල වෙත් ද.

**කුශලපද නය චතුෂ්ක යි.**

13. අකුශල ස්වභාව වූ යම්කිසි ධර්‍ම කෙනෙක් ඇද්ද එ හැම අකුශලමූල වෙත් ද, යළි අකුශලමූල වූ යම් ධර්‍ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්‍මයෝ අකුශල වෙත් ද.

14. අකුශල ස්වභාව වූ යම් ධර්‍ම කෙනෙක් ඇද්ද එ හැම අකුශලමූල විසින් එකමූල (සමානමූල) වෙත් ද, යළි අකුශලමූල විසින් එකමූල වූ යම් ධර්‍ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්‍මයෝ අකුශල වෙත් ද.

15. යෙ කෙචි අකුසලමූලෙන එකමූලා ධම්මා සබ්බෙ තෙ අකුසලමූලෙන අඤ්ඤමඤ්ඤමූලා, යෙ වා පන අකුසලමූලෙන අඤ්ඤමඤ්ඤමූලා සබ්බෙ තෙ ධම්මා අකුසලා.

16. යෙ කෙචි අකුසලා ධම්මා සබ්බෙ තෙ අකුසලමූලමූලා, යෙ වා පන අකුසලමූලමූලා සබ්බෙ තෙ ධම්මා අකුසලා.

17. යෙ කෙචි අකුසලා ධම්මා සබ්බෙ තෙ අකුසලමූලෙන එකමූලමූලා, යෙ වා පන අකුසලමූලෙන එකමූලමූලා සබ්බෙ තෙ ධම්මා අකුසලා.

18. යෙ කෙචි අකුසලමූලෙන එකමූලමූලා ධම්මා සබ්බෙ තෙ අකුසලමූලෙන අඤ්ඤමඤ්ඤමූලමූලා, යෙ වා පන අකුසල-මූලෙන අඤ්ඤමඤ්ඤමූලමූලා සබ්බෙ තෙ ධම්මා අකුසලා.

19. යෙ කෙචි අකුසලා ධම්මා සබ්බෙ තෙ අකුසලමූලකා, යෙ වා පන අකුසලමූලකා සබ්බෙ තෙ ධම්මා අකුසලා.

20. යෙ කෙචි අකුසලා ධම්මා සබ්බෙ තෙ අකුසලමූලෙන එකමූලකා, යෙ වා පන අකුසලමූලෙන එකමූලකා සබ්බෙ තෙ ධම්මා අකුසලා.

21. යෙ කෙචි අකුසලමූලෙන එකමූලකා ධම්මා සබ්බෙ තෙ අකුසලමූලෙන අඤ්ඤමඤ්ඤමූලකා, යෙ වා පන අකුසල-මූලෙන අඤ්ඤමඤ්ඤමූලකා සබ්බෙ තෙ ධම්මා අකුසලා.

22. යෙ කෙචි අකුසලා ධම්මා සබ්බෙ තෙ අකුසලමූල-මූලකා, යෙ වා පන අකුසලමූලමූලකා සබ්බෙ තෙ ධම්මා අකුසලා.

23. යෙ කෙචි අකුසලා ධම්මා සබ්බෙ තෙ අකුසලමූලෙන එකමූලමූලකා, යෙ වා පන අකුසලමූලෙන එකමූලමූලකා සබ්බෙ තෙ ධම්මා අකුසලා.

15. අකුශලමූල විසින් එකමූල වූ යම්කිසි ධර්‍ම කෙනෙක් ඇද්ද එ හැම අකුශලමූල විසින් අන්‍යෝන්‍යමූල වෙත් ද, යළි අකුශලමූල විසින් අන්‍යෝන්‍යමූල වූ යම් ධර්‍ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්‍මයෝ අකුශල වෙත් ද.

16. අකුශල ස්වභාව වූ යම් ධර්‍ම කෙනෙක් ඇද්ද එ හැම අකුශලමූල වූ මූල වෙත් ද, යළි අකුශලමූල සඞ්ඛ්‍යාත මූල වූ යම් ධර්‍ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්‍මයෝ අකුශල වෙත් ද.

17. අකුශල ස්වභාව වූ යම්කිසි ධර්‍ම කෙනෙක් ඇද්ද එ හැම අකුශලමූල විසින් එකමූල වූ මූල වෙත් ද, යළි අකුශ මූල විසින් එකමූල සඞ්ඛ්‍යාත මූල වූ යම් ධර්‍ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්‍මයෝ අකුශල වෙත් ද.

18. අකුශලමූල විසින් එකමූලමූල වූ යම්කිසි ධර්‍ම කෙනෙක් ඇද්ද එ හැම අකුශලමූල විසින් අන්‍යෝන්‍යමූල වෙත් ද, යළි අකුශලමූල විසින් අන්‍යෝන්‍යමූලමූල වූ යම් ධර්‍ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්‍මයෝ අකුශල වෙත් ද.

19. අකුශල ස්වභාව වූ යම්කිසි ධර්‍ම කෙනෙක් ඇද්ද එ හැම අකුශලමූල ඇත්තාහු වෙත් ද, යළි අකුශලමූල ඇති යම් ධර්‍ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්‍මයෝ අකුශල වෙත් ද.

20. අකුශල ස්වභාව වූ යම්කිසි ධර්‍ම කෙනෙක් ඇද්ද එ හැම අකුශලමූල විසින් එකමූල (සමානමූල) ඇත්තාහු වෙත් ද, යළි අකුශලමූල විසින් එකමූල (සමානමූල) ඇති යම් ධර්‍ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්‍මයෝ අකුශල වෙත් ද.

21. අකුශලමූල විසින් එකමූල ඇති යම්කිසි ධර්‍ම කෙනෙක් ඇද්ද එ හැම අකුශලමූල විසින් අන්‍යෝන්‍යමූල ඇත්තාහු වෙත් ද, යළි අකුශලමූල විසින් අන්‍යෝන්‍යමූල ඇති යම් ධර්‍ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්‍මයෝ අකුශල වෙත් ද.

22. අකුශල ස්වභාව වූ යම්කිසි ධර්‍ම කෙනෙක් ඇද්ද, එ හැම අකුශලමූල වූ මූල ඇත්තාහු වෙත් ද, යළි අකුශලමූල වූ මූල ඇති යම් ධර්‍ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්‍මයෝ අකුශල වෙත් ද.

23. අකුශල ස්වභාව වූ යම්කිසි ධර්මි කෙනෙක් ඇද්ද, එ හැම අකුශලමූල විසින් එකමූල වූ මූල ඇත්තාහු වෙත් ද, යළි අකුශලමූල විසින් එකමූල වූ මූල ඇති යම් ධර්ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්මයෝ අකුශල වෙත් ද.

24. යෙ කෙචි අකුසලමූලෙන එකමූලමූලකා ධම්මා සබ්බෙ තෙ අකුසලමූලෙන අඤ්ඤමඤ්ඤමූලමූලකා, යෙ වා පන අකුසලමූලෙන අඤ්ඤමඤ්ඤමූලමූලකා සබ්බෙ තෙ ධම්මා අකුසලා.

අකුසලපදනයචතුක්කං.

25. යෙ කෙචි අබ්‍යාකතා ධම්මා සබ්බෙ තෙ අබ්‍යාකතමූලා, යෙ වා පන අබ්‍යාකතමූලා සබ්බෙ තෙ ධම්මා අබ්‍යාකතා.

26. යෙ කෙචි අබ්‍යාකතා ධම්මා සබ්බෙ තෙ අබ්‍යාකතමූලෙන එකමූලා, යෙ වා පන අබ්‍යාකතමූලෙන එකමූලා සබ්බෙ තෙ ධම්මා අබ්‍යාකතා.

27. යෙ කෙචි අබ්‍යාකතමූලෙන එකමූලා ධම්මා සබ්බෙ තෙ අබ්‍යාකතමූලෙන අඤ්ඤමඤ්ඤමූලා, යෙ වා පන අබ්‍යාකතමූලෙන අඤ්ඤමඤ්ඤමූලා සබ්බෙ තෙ ධම්මා අබ්‍යාකතා.

28. යෙ කෙචි අබ්‍යාකතා ධම්මා සබ්බෙ තෙ අබ්‍යාකතමූලමූලා, යෙ වා පන අබ්‍යාකතමූලමූලා සබ්බෙ තෙ ධම්මා අබ්‍යාකතා.

29. යෙ කෙචි අබ්‍යාකතා ධම්මා සබ්බෙ තෙ අබ්‍යාකතමූලෙන එකමූලමූලා, යෙ වා පන අබ්‍යාකතමූලෙන එකමූලමූලා සබ්බෙ තෙ ධම්මා අබ්‍යාකතා.

30. යෙ කෙචි අබ්‍යාකතමූලෙන එකමූලමූලා ධම්මා සබ්බෙ තෙ අබ්‍යාකතමූලෙන අඤ්ඤමඤ්ඤමූලමූලා, යෙ වා පන අබ්‍යාකතමූලෙන අඤ්ඤමඤ්ඤමූලමූලා සබ්බෙ තෙ ධම්මා අබ්‍යාකතා.

31. යෙ කෙචි අබ්‍යාකතා ධම්මා සබ්බෙ තෙ අබ්‍යාකතමූලකා, යෙ වා පන අබ්‍යාකතමූලකා සබ්බෙ තෙ ධම්මා අබ්‍යාකතා.

24. අකුශලමූල විසින් එකමූල වූ මූල ඇති යම්කිසි ධර්ම කෙනෙක් ඇද්ද එ හැම අකුශල ල විසින් අනොය‍ා'න්‍යමූල වූ මූල ඇත්තාහු වෙත් ද, යළි අකුශල මූල විසින් අනොය‍ා'න්‍යමූල වූ මූල ඇති ධර්ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්මයෝ අකුශල වෙත් ද.

**අකුශලපද නය චතුෂ්ක යි.**

25. අව්‍යාකෘත ස්වභාව වූ යම්කිසි ධර්ම කෙනෙක් ඇද්ද එ හැම අව්‍යාකෘතමූල වෙත් ද, යළි අව්‍යාකෘතමූල වූ යම් ධර්ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්මයෝ අව්‍යාකෘත වෙත් ද.

26. අව්‍යාකෘත ස්වභාව වූ යම්කිසි ධර්ම කෙනෙක් ඇද්ද එ හැම අව්‍යාකෘතමූල විසින් එකමූල (සමානමූල) වෙත් ද, යළි අව්‍යාකෘතමූල විසින් එකමූල වූ යම් ධර්ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්මයෝ අව්‍යාකෘත වෙත් ද.

27. අව්‍යාකෘතමූල විසින් එකමූල වූ යම්කිසි ධර්ම කෙනෙක් ඇද්ද එ හැම අව්‍යාකෘතමූල විසින් අනොය‍ා'න්‍යමූල වෙත් ද, යළි අව්‍යාකෘතමූල විසින් අනොය‍ා'න්‍යමූල වූ යම් ධර්ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්මයෝ අව්‍යාකෘත වෙත් ද.

28. අව්‍යාකෘත ස්වභාව වූ යම්කිසි ධර්ම කෙනෙක් ඇද්ද එ හැම අව්‍යාකෘතමූල වූ මූල වෙත් ද, යළි අව්‍යාකෘතමූල සඞ්ඛ්‍යාත මූල වූ යම් ධර්ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්මයෝ අව්‍යාකෘත වෙත් ද.

29. අව්‍යාකෘත ස්වභාව වූ යම්කිසි ධර්ම කෙනෙක් ඇද්ද එ හැම අව්‍යාකෘතමූල විසින් එකමූල වූ මූල වෙත් ද යළි අව්‍යාකෘතමූල විසින් එකමූලමූල වූ යම් ධර්ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්මයෝ අව්‍යාකෘත වෙත් ද.

30. අව්‍යාකෘතමූල විසින් එකමූලමූල වූ යම්කිසි ධර්ම කෙනෙක් ඇද්ද එ හැම අව්‍යාකෘතමූල විසින් අනොය‍ා'න්‍යමූල වූ මූල වෙත් ද, යළි අව්‍යාකෘතමූල විසින් අනොය‍ා'න්‍යමූලමූල වූ යම් ධර්ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්මයෝ අව්‍යාකෘත වෙත් ද.

31. අව්‍යාකෘත ස්වභාව වූ යම්කිසි ධර්ම කෙනෙක් ඇද්ද එ හැම අව්‍යාකෘතමූල ඇත්තාහු වෙත් ද, යළි අව්‍යාකෘතමූල ඇති යම් ධර්ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්මයෝ අව්‍යාකෘත වෙත් ද.

32. යෙ කෙචි අබ්‍යාකතා ධම්මා සබ්බෙ තෙ අබ්‍යාකතමූලෙන එකමූලකා, යෙ වා පන අබ්‍යාකතමූලෙන එකමූලකා සබ්බෙ තෙ ධම්මා අබ්‍යාකතා.

33. යෙ කෙචි අබ්‍යාකතමූලෙන එකමූලකා ධම්මා සබ්බෙ තෙ අබ්‍යාකතමූලෙන අඤ්ඤමඤ්ඤමූලකා, යෙ වා පන අබ්‍යාකතමූලෙන අඤ්ඤමඤ්ඤමූලකා සබ්බෙ තෙ ධම්මා අබ්‍යාකතා.

34. යෙ කෙචි අබ්‍යාකතා ධම්මා සබ්බෙ තෙ අබ්‍යාකතමූලමූලකා, යෙ වා පන අබ්‍යාකතමූලමූලකා සබ්බෙ තෙ ධම්මා අබ්‍යාකතා.

35. යෙ කෙචි අබ්‍යාකතා ධම්මා සබ්බෙ තෙ අබ්‍යාකතමූලෙන එකමූලමූලකා, යෙ වා පන අබ්‍යාකතමූලෙන එකමූලමූලකා සබ්බෙ තෙ ධම්මා අබ්‍යාකතා.

36. යෙ කෙචි අබ්‍යාකතමූලෙන එකමූලමූලකා ධම්මා සබ්බෙ තෙ අබ්‍යාකතමූලෙන අඤ්ඤමඤ්ඤමූලමූලකා, යෙ වා පන අබ්‍යාකතමූලෙන අඤ්ඤමඤ්ඤමූලමූලකා සබ්බෙ තෙ ධම්මා අබ්‍යාකතා.

**අබ්‍යාකතපදනයචතුක්කං.**

37. යෙ කෙචි නාමා ධම්මා සබ්බෙ තෙ නාමමූලා, යෙ වා පන නාමමූලා සබ්බෙ තෙ ධම්මා නාමා.

38. යෙ කෙචි නාමා ධම්මා සබ්බෙ තෙ නාමමූලෙන එකමූලා, යෙ වා පන නාමමූලෙන එකමූලා සබ්බෙ තෙ ධම්මා නාමා.

39. යෙ කෙචි නාමමූලෙන එකමූලා ධම්මා සබ්බෙ තෙ නාමමූලෙන අඤ්ඤමඤ්ඤමූලා, යෙ වා පන නාමමූලෙන අඤ්ඤමඤ්ඤමූලා සබ්බෙ තෙ ධම්මා නාමා.

32. අව්‍යාකෘත ස්වභාව වූ යම්කිසි ධර්ම කෙනෙක් ඇද්ද එ හැම අව්‍යාකෘතමූල විසින් එකමූල ඇත්තාහු වෙත් ද, යළි අව්‍යාකෘතමූල විසින් එකමූල ඇති යම් ධර්ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්මයෝ අව්‍යාකෘත වෙත් ද.

33. අව්‍යාකෘතමූල විසින් එකමූල (සමානමූල) ඇති යම්කිසි ධර්ම කෙනෙක් ඇද්ද එ හැම අව්‍යාකෘතමූල විසින් අන්‍යෝ'න්‍ය මූල ඇත්තාහු වෙත් ද, යළි අව්‍යාකෘතමූල විසින් අන්‍යෝ'න්‍යමූල ඇති යම් ධර්ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්මයෝ අව්‍යා-කෘත වෙත් ද.

34. අව්‍යාකෘත ස්වභාව වූ යම්කිසි ධර්ම කෙනෙක් ඇද්ද එ හැම අව්‍යාකෘතමූල වූ මූල ඇත්තාහු වෙත් ද, යළි අව්‍යාකෘත මූල වූ මූල ඇති යම් ධර්ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්මයෝ අව්‍යාකෘත වෙත් ද.

35 අව්‍යාකෘත ස්වභාව වූ යම්කිසි ධර්ම කෙනෙක් ඇද්ද එ හැම අව්‍යාකෘතමූල විසින් එකමූල වූ මූල ඇත්තාහු වෙත් ද, යළි අව්‍යාකෘතමූල විසින් එකමූල වූ මූල ඇති යම් ධර්ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්මයෝ අව්‍යාකෘත වෙත් ද.

36. අව්‍යාකෘතමූල විසින් එකමූල වූ මූල ඇති යම්කිසි ධර්ම කෙනෙක් ඇද්ද එ හැම අව්‍යාකෘතමූල විසින් අන්‍යෝ'න්‍යමූල වූ මූල ඇත්තාහු වෙත් ද, යළි අව්‍යාකෘතමූල විසින් අන්‍යෝ'න්‍යමූල වූ මූල ඇති යම් ධර්ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්මයෝ අව්‍යාකෘත වෙත් ද.

**අව්‍යාකෘතපද නයචතුෂ්ක යි.**

37. නාම සඞ්ඛ්‍යාත යම්කිසි ධර්ම කෙනෙක් ඇද්ද එ හැම නාමමූල වෙත් ද, යළි නාමමූල වූ යම් ධර්ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්මයෝ නාම වෙත් ද.

38. නාම වූ යම්කිසි ධර්ම කෙනෙක් ඇද්ද එ හැම නාම මූල විසින් එකමූල (සමානමූල) වෙත් ද, යළි නාමමූල විසින් එකමූල වූ යම් ධර්ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්මයෝ නාම වෙත් ද.

39. නාමමූල විසින් එකමූල වූ යම්කිසි ධර්ම කෙනෙක් ඇද්ද එ හැම නාමමූල විසින් අන්‍යෝ'න්‍යමූල වෙත් ද, යළි නාමමූල විසින් අන්‍යෝ'න්‍යමූල වූ යම් ධර්ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්මයෝ නාම වෙත් ද.

40. යෙ කෙචි නාමා ධම්මා සබ්බෙ තෙ නාමමූලමූලා, යෙ වා පන නාමමූලමූලා සබ්බෙ තෙ ධම්මා නාමා.

41. යෙ කෙචි නාමා ධම්මා සබ්බෙ තෙ නාමමූලෙන එකමූලමූලා, යෙ වා පන නාමමූලෙන එකමූලමූලා සබ්බෙ තෙ ධම්මා නාමා.

42. යෙ කෙචි නාමමූලෙන එකමූලමූලා ධම්මා සබ්බෙ තෙ නාමමූලෙන අඤ්ඤමඤ්ඤමූලමූලා, යෙ වා පන නාමමූලෙන අඤ්ඤ-මඤ්ඤමූලමූලා සබ්බෙ තෙ ධම්මා නාමා.

43. යෙ කෙචි නාමා ධම්මා සබ්බෙ තෙ නාමමූලකා, යෙ වා පන නාමමූලකා සබ්බෙ තෙ ධම්මා නාමා.

44. යෙ කෙචි නාමා ධම්මා සබ්බෙ තෙ නාමමූලෙන එක-මූලකා, යෙ වා පන නාමමූලෙන එකමූලකා සබ්බෙ තෙ ධම්මා නාමා.

45. යෙ කෙචි නාමමූලෙන එකමූලකා ධම්මා සබ්බෙ තෙ නාමමූලෙන අඤ්ඤමඤ්ඤමූලකා, යෙ වා පන නාමමූලෙන අඤ්ඤ-මඤ්ඤමූලකා සබ්බෙ තෙ ධම්මා නාමා.

46. යෙ කෙචි නාමා ධම්මා සබ්බෙ තෙ නාමමූලමූලකා, යෙ වා පන නාමමූලමූලකා සබ්බෙ තෙ ධම්මා නාමා.

47. යෙ කෙචි නාමා ධම්මා සබ්බෙ තෙ නාමමූලෙන එක-මූලමූලකා, යෙ වා පන නාමමූලෙන එකමූලමූලකා සබ්බෙ තෙ ධම්මා නාමා.

40. නාම වූ යම්කිසි ධර්ම කෙනෙක් ඇද්ද එ හැම නාම-මූල විසින් එකමූල වූ මූල වෙත් ද, යළි නාමමූලමූල වූ යම් ධර්ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්මයෝ නාම වෙත් ද.

41. නාම වූ යම්කිසි ධර්ම කෙනෙක් ඇද්ද එ හැම නාම-මූල විසින් එකමූල වූ මූල වෙත් ද, යළි නාමමූල විසින් එකමූලමූල වූ යම් ධර්ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්මයෝ නාම වෙත් ද.

42. නාමමූල විසින් එකමූලමූල වූ යම්කිසි ධර්ම කෙනෙක් ඇද්ද එ හැම නාමමූල විසින් අන්‍යොන්‍යමූල වූ මූල වෙත් ද, යළි නාමමූල විසින් අන්‍යොන්‍යමූලමූල වූ යම් ධර්ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්මයෝ නාම වෙත් ද.

43. නාම වූ යම්කිසි ධර්ම කෙනෙක් ඇද්ද එ හැම නාම-මූල ඇත්තාහු වෙත් ද, යළි නාමමූල ඇති යම් ධර්ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්මයෝ නාම වෙත් ද.

44. නාම වූ යම්කිසි ධර්ම කෙනෙක් ඇද්ද එ හැම නාමමූල විසින් එකමූල ඇත්තාහු වෙත් ද, යළි නාමමූල විසින් එකමූල ඇති යම් ධර්ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්මයෝ නාම වෙත් ද.

45. නාමමූල විසින් එකමූල ඇති යම්කිසි ධර්ම කෙනෙක් ඇද්ද එ හැම නාමමූල විසින් අන්‍යොන්‍යමූල ඇත්තාහු වෙත් ද, යළි නාමමූල විසින් අන්‍යොන්‍යමූල ඇති යම් ධර්ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්මයෝ නාම වෙත් ද.

46. නාම වූ යම්කිසි ධර්ම කෙනෙක් ඇද්ද එ හැම නාම-මූල වූ මූල ඇත්තාහු වෙත් ද, යළි නාමමූල වූ මූල ඇති යම් ධර්ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්මයෝ නාම වෙත් ද.

47. නාම වූ යම්කිසි ධර්ම කෙනෙක් ඇද්ද එ හැම නාම-මූල විසින් එකමූල වූ මූල ඇත්තාහු වෙත් ද, යළි නාමමූල විසින් එකමූල වූ මූල ඇති යම් ධර්ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්මයෝ නාම වෙත් ද.

48. යෙ කෙචි නාමමූලෙන එකමූලමූලකා ධම්මා සබ්බෙ තෙ නාමමූලෙන අඤ්ඤමඤ්ඤමූලමූලකා, යෙ වා පන නාමමූලෙන අඤ්ඤමඤ්ඤමූලමූලකා සබ්බෙ තෙ ධම්මා නාමා.

**නාමපදනයචතුක්කං.**

## මූලවාර උද්දෙසො.

49. යෙ කෙචි කුසලා ධම්මා සබ්බෙ තෙ කුසලහෙතු -පෙ- කුසලනිදානා -පෙ- කුසලසම්භවා -පෙ- කුසලප්පභවා -පෙ- කුසල-සමුට්ඨානා -පෙ- කුසලාහාරා -පෙ- කුසලාරම්මණා -පෙ- කුසල පච්චයා -පෙ- කුසලසමුදයා -පෙ-.

**හෙතුවාරාදි උද්දෙසො.**

මූලං හෙතු නිදානඤ්ච සම්භවො පභවෙන ච,
සමුට්ඨානාහාරාරම්මණා පච්චයො සමුදයෙන චාති.

## උද්දෙසවාරො නිට්ඨිතො.

48. නාමමූල විසින් එකමූල (සමානමූල) වූ මූල ඇති යම්කිසි ධර්ම කෙනෙක් ඇද්ද එ හැම නාමමූල විසින් අන්‍යෝන්‍යමූල වූ මූල ඇත්තාහු වෙත් ද, යළි නාමමූල විසින් අන්‍යෝන්‍යමූල වූ මූල ඇති යම් ධර්ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්මයෝ නාම වෙත් ද.

**නාමපද නයචතුෂ්ක යි.**

## මූලවාර උද්දෙශ යි.

49. කුශල ස්වභාව වූ යම්කිසි ධර්ම කෙනෙක් ඇද්ද එ හැම කුශල හෙතු වෙත් ද ... කුශල නිදන වෙත් ද ... කුශලසම්භව වෙත් ද ... කුශලප්‍රභව වෙත් ද ... කුශලසමුත්ථාන වෙත් ද ... කුශල ආහාර වෙත් ද ... කුශල ආලම්බන වෙත් ද ... කුශල ප්‍රත්‍යය වෙත් ද ... කුශලසමුදය වෙත් ද ...

**හෙතුවාරාදි උද්දෙශ යි.**

මූල යැ හෙතු යැ නිදන යැ සම්භව යැ ප්‍රභව යැ සමුත්ථාන යැ ආහාර යැ ආලම්බන යැ ප්‍රත්‍යය යැ සමුදය යැ යි වාර දසයෙකි.

## උද්දෙශවාර නිමි.

## 2. නිද්දෙසවාරො

1. යෙ කෙචි කුසලා ධම්මා සබ්බෙ තෙ කුසලමූලානි: තීණෙව කුසලමූලානි, අවසෙසා කුසලා ධම්මා න කුසලමූලා. යෙ වා පන කුසලමූලා සබ්බෙ තෙ ධම්මා කුසලාති: ආමන්තා.

2. යෙ කෙචි කුසලා ධම්මා සබ්බෙ තෙ කුසලමූලෙන එකමූලාති: ආමන්තා. යෙ වා පන කුසලමූලෙන එකමූලා සබ්බෙ තෙ ධම්මා කුසලාති: කුසලසමුට්ඨානං රූපං කුසලමූලෙන එකමූලං, න කුසලං. කුසලං කුසලමූලෙන එකමූලඤ්චෙව කුසලඤ්ච.

3. යෙ කෙචි කුසලමූලෙන එකමූලා ධම්මා සබ්බෙ තෙ කුසලමූලෙන අඤ්ඤමඤ්ඤමූලාති: මූලානි යානි එකතො උප්පජ්ජන්ති කුසලමූලානි එකමූලානි චෙව අඤ්ඤමඤ්ඤමූලානි ච, අවසෙසා කුසලමූලසහජාතා ධම්මා කුසලමූලෙන එකමූලා න ච අඤ්ඤමඤ්ඤ-මූලා. යෙ වා පන කුසලමූලෙන අඤ්ඤමඤ්ඤමූලා සබ්බෙ තෙ ධම්මා කුසලාති: ආමන්තා.

4. යෙ කෙචි කුසලා ධම්මා සබ්බෙ තෙ කුසලමූලමූලානි: තීණෙව කුසලමූලමූලානි, අවසෙසා කුසලා ධම්මා න කුසලමූල-මූලා. යෙ වා පන කුසලමූලමූලා, සබ්බෙ තෙ ධම්මා කුසලාති: ආමන්තා.

5. යෙ කෙචි කුසලා ධම්මා සබ්බෙ තෙ කුසලමූලෙන එකමූලමූලාති: ආමන්තා. යෙ වා පන කුසලමූලෙන එකමූලමූලා සබ්බෙ තෙ ධම්මා කුසලාති: කුසලසමුට්ඨානං රූපං කුසල මූලෙන එකමූලමූලං, න කුසලං. කුසලං කුසලමූලෙන එකමූල මූලඤ්චෙව කුසලඤ්ච.

6. යෙ කෙචි කුසලමූලෙන එකමූලමූලා ධම්මා සබ්බෙ තෙ කුසලමූලෙන අඤ්ඤමඤ්ඤමූලමූලාති: මූලානි යානි එකතො උප්පජ්ජන්ති කුසලමූලානි එකමූලමූලානි චෙව අඤ්ඤමඤ්ඤමූලමූලානි ච, අවසෙසා කුසලමූලසහජාතා ධම්මා කුසලමූලෙන එකමූලමූලා, න ච අඤ්ඤ මඤ්ඤමූලමූලා. යෙ වා පන කුසලමූලෙන අඤ්ඤමඤ්ඤමූලමූලා සබ්බෙ තෙ ධම්මා කුසලාති: ආමන්තා.

## 2. නිර්දෙශවාර

1. කුශල ස්වභාව වූ යම්කිසි ධර්ම කෙනෙක් ඇද්ද එ හැම කුශලමූල වෙති යත්: (අලොභාදි) කුශලමූලයෝ තිදෙනෙක් මැ වෙති. අවශෙෂ වූ (ස්පර්ශාදි) කුශලධර්මයෝ කුශලමූල නො වෙති. යළි කුශමූල වූ යම් ධර්ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්මයෝ කුශල වෙති යත්: එසේ යැ.

2. කුශල ස්වභාව වූ යම්කිසි ධර්ම කෙනෙක් ඇද්ද එ හැම කුශලමූල විසින් එකමූල (සමානමූල) වෙති යත්: එසේ යැ. (ස්පර්ශයට මූල වූ අලොභාදිය වෙදනාදියට ද මූල වන හෙයිනි) යළි කුශලමූල විසින් එකමූල වූ යම් ධර්ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්මයෝ කුශල වෙති යත්: කුශල (චිත්ත) සමුට්ඨාන වූ රූපය (අලොභාදි) කුශලමූල විසින් එකමූල (සමානමූල) වෙයි. (කුශල ලක්ෂණ නැති හෙයින් එ) කුශල නො වෙයි. කුශල තෙම කුශලමූල විසින් එකමූල (සමානමූල) ද කුශල ද වේ.

3. කුශලමූල විසින් එකමූල වූ යම්කිසි ධර්ම කෙනෙක් ඇද්ද එ හැම කුශලමූල විසින් අන්‍යෝ'න්‍යමූල වෙති යත්: කුශලමූල වූ යම් මූල කෙනෙක් එකවට උපදිත් ද (ඔහු) එකමූල ද (ඔවු-නොවුනට හෙතුප්‍රත්‍යය විසින්) අන්‍යෝ'න්‍යමූල ද වෙති. අවශෙෂ වූ කුශලමූලසහජාත වූ (ස්පර්ශාදි) ධර්මයෝ කුශලමූල විසින් එක-මූල වෙති. අන්‍යෝ'න්‍යමූල නොද වෙති. යළි කුශලමූල විසින් අන්‍යෝ'න්‍යමූල වූ යම් ධර්ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්මයෝ කුශල වෙති යත්: එසේ යැ.

4. කුශල ස්වභාව වූ යම්කිසි ධර්ම කෙනෙක් ඇද්ද එ හැම කුශලමූල වූ මූල වෙති යත්: (අලොභාදි) කුශලමූල වූ මූලයෝ තිදෙනෙක් මැ වෙති. අවශෙෂ වූ (ස්පර්ශාදී) කුශලධර්මයෝ කුශලමූල වූ මූල නො වෙති. යළි කුශලමූලමූල වූ යම් ධර්ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්මයෝ කුශල වෙති යත්: එසේ යැ.

5. කුශල ස්වභාව වූ යම්කිසි ධර්ම කෙනෙක් ඇද්ද එ හැම කුශලමූල විසින් එකමූලමූල වෙති යත්: එසේ යැ. යළි කුශල-මූල විසින් එකමූලමූල වූ යම් ධර්ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්මයෝ කුශල වෙති යත්: කුශලසමුට්ඨාන රූපය කුශල-මූල විසින් එකමූල වෙයි, කුශල නො වෙයි. කුශලය කුශලමූල විසින් එකමූලමූල ද කුශල ද වේ.

6. කුශලමූල විසින් එකමූලමූල වූ යම්කිසි ධර්ම කෙනෙක් ඇද්ද එ හැම කුශලමූල විසින් අන්‍යෝ'න්‍යමූල වූ මූල වෙති යත්: කුශලමූල වූ යම් මූල කෙනෙක් එකවට උපදිත් ද (ඔහු) එකමූල වූ මූල ද අන්‍යෝ'න්‍යමූල වූ මූල ද වෙති, අවශෙෂ වූ (ස්පර්ශාදි) කුශලමූලසහජාත ධර්මයෝ කුශලමූල විසින් එකමූල මූල වෙති, අන්‍යෝ'න්‍යමූල වූ මූල නොද වෙති. යළි කුශලමූල විසින් අන්‍යෝ'න්‍යමූලමූල වූ යම් ධර්ම කෙනෙක් හෝ ඇද්ද එ හැම ධර්මයෝ කුශල වෙති යත්: එසේ යැ.

7. යෙ කෙචි කුසලා ධම්මා සබ්බෙ තෙ කුසලමූලකාති: ආමන්තා. යෙ වා පන කුසලමූලකා සබ්බෙ තෙ ධම්මා කුසලාති: කුසලසමුට්ඨානං රූපං කුසලමූලකං, න කුසලං. කුසලං කුසලමූලකඤ්චෙව කුසලඤ්ච.

8. යෙ කෙචි කුසලා ධම්මා සබ්බෙ තෙ කුසලමූලෙන එකමූලකාති: ආමන්තා. යෙ වා පන කුසලමූලෙන එකමූලකා සබ්බෙ තෙ ධම්මා කුසලාති: කුසලසමුට්ඨානං රූපං කුසලමූලෙන එකමූලකං, න කුසලං. කුසලං කුසලමූලෙන එකමූලකඤ්චෙව කුසලඤ්ච.

9. යෙ කෙචි කුසලමූලෙන එකමූලකා ධම්මා සබ්බෙ තෙ කුසලමූලෙන අඤ්ඤමඤ්ඤමූලකාති: මූලානි යානි එකතො උප්පජ්ජන්ති කුසලමූලානි එකමූලකානි චෙව අඤ්ඤමඤ්ඤමූලකානි ච, අවසෙසා කුසලමූලසහජාතා ධම්මා කුසලමූලෙන එකමූලකා, න ච අඤ්ඤමඤ්ඤමූලකා. යෙ වා පන කුසලමූලෙන අඤ්ඤමඤ්ඤමූලකා සබ්බෙ තෙ ධම්මා කුසලාති: ආමන්තා.

10. යෙ කෙචි කුසලා ධම්මා සබ්බෙ තෙ කුසලමූලමූලකාති: ආමන්තා. යෙ වා පන කුසලමූලමූලකා සබ්බෙ තෙ ධම්මා කුසලාති: කුසලසමුට්ඨානං රූපං කුසලමූලමූලකං, න කුසලං. කුසලං කුසලමූලමූලකඤ්චෙව කුසලඤ්ච.

11. යෙ කෙචි කුසලා ධම්මා සබ්බෙ තෙ කුසලමූලෙන එකමූලමූලකාති: ආමන්තා. යෙ වා පන කුසලමූලෙන එකමූලමූලකා සබ්බෙ තෙ ධම්මා කුසලාති: කුසලසමුට්ඨානං රූපං කුසලමූලෙන එකමූලමූලකං, න කුසලං. කුසලං කුසලමූලෙන එකමූලමූලකඤ්චෙව කුසලඤ්ච.

12. යෙ කෙචි කුසලමූලෙන එකමූලමූලකා ධම්මා සබ්බෙ තෙ කුසලමූලෙන අඤ්ඤමඤ්ඤමූලමූලකාති: මූලානි යානි එකතො උප්පජ්ජන්ති කුසලමූලානි එකමූලමූලකානි චෙව අඤ්ඤමඤ්ඤමූලමූලකානි ච, අවසෙසා කුසලමූලසහජාතා ධම්මා කුසලමූලෙන එකමූලමූලකා, න ච අඤ්ඤමඤ්ඤමූලමූලකා. යෙ වා පන කුසලමූලෙන අඤ්ඤමඤ්ඤමූලමූලකා සබ්බෙ තෙ ධම්මා කුසලාති: ආමන්තා.

**කුසලපදනයචතුක්කං.**

7. කුශල ස්වභාව වූ යම්කිසි ධර්ම කෙනෙක් ඇද්ද එ හැම කුශලමූල ඇත්තාහු වෙති යත්: එසේ යැ. යළි කුශලමූල ඇති යම් ධර්ම කෙනෙක් ඇද්ද එ හැම ධර්මයෝ කුශල වෙති යත්: කුශල (චිත්ත) සමුත්ථාන රූපය කුශලමූල ඇත්තේ වෙයි, කුශල නො වෙයි. කුශල (චිත්ත) තෙම කුශලමූල ඇත්තේ ද කුශල ද වේ.

8. කුශල ස්වභාව වූ යම්කිසි ධර්ම කෙනෙක් ඇද්ද එ හැම කුශලමූල විසින් එකමූල (සමානමූල) ඇත්තාහු වෙති යත්: එසේ යැ. යළි කුශලමූල විසින් එකමූල ඇති යම් ධර්ම කෙනෙකුත් ඇද්ද එ හැම ධර්මයෝ කුශල වෙති යත්: කුශලසමුත්ථාන රූප තෙම කුශලමූල විසින් එකමූල ඇත්තේ වෙයි. කුශල නො වෙයි. කුශල තෙම කුශලමූල විසින් එකමූලක ද කුශල ද වේ.

9. කුශලමූල විසින් එකමූලක වූ යම්කිසි ධර්ම කෙනෙක් ඇද්ද එ හැම කුශලමූල විසින් අන්‍යෝ'න්‍යමූල ඇත්තාහු වෙති යත්: කුශලමූල වූ යම් මූල කෙනෙක් එකවට උපදිත් ද (ඔහු) එකමූලක ද අන්‍යෝ'න්‍යමූලක ද වෙති. අවශෙෂ වූ කුශලමූල සහජාත ධර්මයෝ කුශලමූල විසින් එකමූල ඇත්තාහු වෙති, අන්‍යෝ'න්‍යමූලක නො ද වෙති. යළි කුශලමූල විසින් අන්‍යෝ'න්‍යමූලක වූ යම් ධර්ම කෙනෙක් ඇද්ද එ හැම ධර්මයෝ කුශල වෙති යත්: එසේ යි.

10. කුශල ස්වභාව වූ යම්කිසි ධර්ම කෙනෙක් ඇද්ද එ හැම කුශලමූලමූලක වෙති යත්: එසේ යැ. යළි කුශලමූලමූලක වූ යම් ධර්ම කෙනෙකුත් ඇද්ද එ හැම ධර්මයෝ කුශල වෙති යත්: කුශලසමුත්ථාන රූප තෙම කුශලමූලමූලක වෙයි. කුශල නො වෙයි. කුශල (චිත්ත) තෙම කුශලමූලමූලක ද කුශල ද වේ.

11. කුශල ස්වභාව වූ යම්කිසි ධර්ම කෙනෙක් ඇද්ද එ හැම කුශලමූල විසින් එකමූල වූ මූල ඇත්තාහු වෙති යත්: එසේ යැ. යළි කුශලමූල විසින් එකමූල වූ මූල ඇති යම් ධර්ම කෙනෙකුත් ඇද්ද එ හැම ධර්මයෝ කුශල වෙති යත්: කුශලසමුත්ථාන රූප තෙම කුශලමූල විසින් එකමූල වූ මූල ඇත්තේ යැ, කුශල නො වෙයි. කුශල තෙම කුශලමූල විසින් එකමූල වූ මූල ඇත්තේ ද කුශල ද වේ.

12. කුශලමූල විසින් එකමූල වූ මූල ඇති යම්කිසි ධර්ම කෙනෙක් ඇද්ද එ හැම කුශලමූල විසින් අන්‍යෝ'න්‍යමූල වූ මූල ඇත්තාහු වෙති යත්: කුශලමූල වූ යම් මූල කෙනෙක් එකවට උපදනාහු වෙත් ද ඔහු එකමූල මූලක ද අන්‍යෝ'න්‍යමූලමූලක ද වෙති. අවශෙෂ වූ කුශලමූලසහජාත ධර්මයෝ කුශලමූල විසින් එකමූල මූලක වෙති. අන්‍යෝ'න්‍යමූලමූලක නොද වෙති. යළි කුශලමූල විසින් අන්‍යෝ'න්‍යමූලමූලක වූ යම් ධර්ම කෙනෙකුත් ඇද්ද එ හැම ධර්මයෝ කුශල වෙති යත්: එසේ යි.

**කුශලපද නයචතුෂ්ක යි.**

13. යෙ කෙචි අකුසලා ධම්මා සබ්බෙ තෙ අකුසලමූලාති: තීණෙව අකුසලමූලානි, අවසෙසා අකුසලා ධම්මා න අකුසලමූලා. යෙ වා පන අකුසලමූලා සබ්බෙ තෙ ධම්මා අකුසලාති: ආමන්තා.

14. යෙ කෙචි අකුසලා ධම්මා සබ්බෙ තෙ අකුසලමූලෙන එකමූලාති; අහෙතුකං අකුසලං අකුසලමූලෙන න එකමූලං, සහෙතුකං අකුසලං අකුසලමූලෙන එකමූලං. යෙ වා පන අකුසලමූලෙන එකමූලා සබ්බෙ තෙ ධම්මා අකුසලාති: අකුසලසමුට්ඨානං රූපං අකුසලමූලෙන එකමූලං, න අකුසලං. අකුසලං අකුසලමූලෙන එකමූලඤ්චෙව අකුසලඤ්ච.

15. යෙ කෙචි අකුසලමූලෙන එකමූලා ධම්මා සබ්බෙ තෙ අකුසලමූලෙන අඤ්ඤමඤ්ඤමූලාති: මූලානි යානි එකතො උප්පජ්ජන්ති අකුසලමූලානි එකමූලානි චෙව අඤ්ඤමඤ්ඤමූලානි ච, අවසෙසා අකුසලමූලසහජාතා ධම්මා අකුසලමූලෙන එකමූලා, න ච අඤ්ඤමඤ්ඤමූලා. යෙ වා පන අකුසලමූලෙන අඤ්ඤමඤ්ඤමූලා සබ්බෙ තෙ ධම්මා අකුසලාති: ආමන්තා.

16. යෙ කෙචි අකුසලා ධම්මා සබ්බෙ තෙ අකුසලමූලමූලාති: තීණෙව අකුසලමූලමූලානි, අවසෙසා අකුසලා ධම්මා න අකුසලමූලමූලා. යෙ වා පන අකුසලමූලමූලා සබ්බෙ තෙ ධම්මා අකුසලාති: ආමන්තා.

17. යෙ කෙචි අකුසලා ධම්මා සබ්බෙ තෙ අකුසලමූලෙන එකමූලමූලාති: අහෙතුකං අකුසලං අකුසලමූලෙන න එකමූලමූලං, සහෙතුකං අකුසලං අකුසලමූලෙන එකමූලමූලං. යෙ වා පන අකුසලමූලෙන එකමූලමූලා සබ්බෙ තෙ ධම්මා අකුසලාති: අකුසලසමුට්ඨානං රූපං අකුසලමූලෙන එකමූලමූලං, න අකුසලං. අකුසලං අකුසලමූලෙන එකමූලමූලඤ්චෙව අකුසලඤ්ච.

18. යෙ කෙචි අකුසලමූලෙන එකමූලමූලා ධම්මා සබ්බෙ තෙ අකුසලමූලෙන අඤ්ඤමඤ්ඤමූලමූලාති: මූලානි යානි එකතො උප්පජ්ජන්ති අකුසලමූලානි එකමූලමූලානි චෙව අඤ්ඤමඤ්ඤමූලමූලානි ච, අවසෙසා අකුසලමූලසහජාතා ධම්මා අකුසලමූලෙන එකමූලමූලා, න ච අඤ්ඤමඤ්ඤමූලමූලා. යෙ වා එන අකුසලමූලෙන අඤ්ඤමඤ්ඤමූලමූලා සබ්බෙ තෙ ධම්මා අකුසලාති: ආමන්තා.

